සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2560ක් වූ මැදින් මස (ව්‍යවහාරික වර්ෂ 2017 මාර්තු)

66 වෙනි කලාපය

## සැඟව ගිය බොදු මග යළි මතු කළ යතිවරයාණෝ සමු ගනිති.







සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# වහරක හිමි අභය රතනාලංකාර
# අභවර කළ වගයි දිගු මග සංසාර

යහ මග අපට හෙළි කළ දැනුමෙන් සාර
මහ ගුණ තෙදැති යති නම අපෙ පින් සාර
වහරක හිමි අභය රතනාලං කාර
අහ වර කළහ රුදු දිගු මග සං සාර

විනය ගරුක අපෙ පින්වත් සමිඳු ගරු
බණය දෙසුවෙ දෙලොවට සුව සදන යුරු
ගුණය එබඳු වුව බොදු සිල් සුවඳ දැරු
අණය මරුගෙ කෙළෙසක කළ හැකිද දුරු

දිවියෙහි හොඳ නරක රස ගුණ හැඳින ගෙන
සසරෙහි දුක අඳුර සදහට නසන මෙන
පිරුමෙහි බණ දහම හිමි සඳු පැවිදි වුන
අඳුරෙහි විසු අපට දෙසු හරි නිමල බණ

හදවත පිවිතුරුය හැඩරුව පිය කරුය
බිඳ හළ සසර බැමි දහමෙහි ගරු සරුය
මඳ කුදු දොසක් කොද අප සැමටම ගුරුය
වෙද හෙද කමට වුව හිමි අත හිත හුරුය

ලෝ දම අනුව ලෙඩ විය ගත දුබල වුනා
රෝ දුක පොදුය අප උපතද සමග ගෙනා
ඒ බව හැඳින දෙණ අභියස සියලු දෙනා
ජීවන ගමන ගැන ලද සිහි නුවණ මනා

ලොව සෙත් සුව පිණිස අප'තර පහළ වුන
භව දුක් කෙබඳු වෙද ගෙන හැර දෙසුව බණ
අවසන් ගමන් ගිය අපෙ හිමි පළිඟු මිණ
නිවනින් නිවුනි තව සැපතක් කොහිද වෙන

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# ගෞතම බුදු සසුන එකළු කළ අනු බුදු පහන නිවී ගියා...

**දුල්ලභෝ පුරිසාජඤ්ඤෝ
න සෝ සබ්බත්ථ ජායතී
යත්ථ සෝ ජායතී ධීරෝ
තං කුලං සුඛ මේධතී**

ලොව්තුරා බුදුවරු ලෝකයට පහළ වෙන්නෙ ඉතාම කලාතුරකින්. බුද්ධ සාසනයක් ලෝකයට විද්‍යමාන වෙන්නෙ එතකොට. අල්පායුෂ්ක බුදු රජාණන් වහන්සේලාගේ බුද්ධ සාසන ඒ උතුමන්ලාගේ පිරිනිවීමෙන් පස්සෙ වැඩි කාලයක් පවතිනවා. ඒකට හේතුව තමයි, අල්පායුෂ්ක බුදුවරයෙක් ජීවමානව වැඩ සිටින කාලය තුළ බෝධි සත්ත්වයන් වහන්සේත් සමග සසරෙ ආපු සියළු බුදු පිරිසට නිවන් අවබෝධ කරගන්න අවස්ථාව උදා නොවීම. ඒ නිසා ඒ වගේ බුදුවරුන්ගෙ සාසන, බුද්ධ පරිනිර්වාණයෙන් පස්සෙත් වැඩි කාලයක් පවතිනවා.

ගෞතම බුදු හාමුදුරුවො බුදු වුනාට පස්සෙ අවුරුදු 45 ක් තරම් ඉතා කෙටි කාලයක් තමයි වැඩ සිටියෙ. ඒ නිසා ගෞතම බුදු සසුන බුද්ධ පරිනිර්වාණයෙන් පස්සෙත් බොහෝ කාලයක් මතු වෙමින් පසු බසිමින් පවතිනවා. වසර 5,000 ක් මේ බුද්ධ සාසනය අධිගමලාභීන්ගෙන් හිස් නොවී පවතිනව කියන්නෙ ඒකයි. එහෙනම් ඒ වගේ උත්තමයන් අදටත් දුලභව හෝ වැඩ ඉන්න ඕන. නැත්නම් කළණ වැට බිඳෙනවා.

තථාගතයන් වහන්සේ නමක් මතු කරල දෙන බුද්ධ සාසනය කලින් කල බැබලෙන කාල වකවානු වගේම පසුබෑමට ලක්වෙන කාල වකවානුත් ඇතිවෙනවා. සාසන ඉතිහාසය අරගෙන බැලුවත් සාසනය පසුබෑමට ලක්වෙච්ච අවස්ථාවල ඒක නගා සිටුවන්න සත්පුරිස උතුමන් ලෝකයට පහළ වෙලා තියෙනවා.

"දුල්ලභෝ පුරිසාජඤ්ඤෝ" ආජානීය පුරිසයන්ගේ පහළ වීම ඉතාම දුර්ලබයි. ආජානීය කියන්නෙ සාමාන්‍ය අයට නැති විශේෂ හැකියාවක් තියෙන මහා ප්‍රාඥයන්. අශ්වයන් අතරත් ආජානීය කියල අශ්වයො ජාතියක් ඉන්නවා. ඒ අශ්වයන් සාමාන්‍ය අශ්වයන්ට වැඩිය විශේෂත්වයක් තියෙන දක්ෂ හැකියාවක් තියෙන එවුන්.

"න සෝ සබ්බත්ථ ජායතී" හැම තැනම හැමදාම ඒ වගේ මහා පුරිසයන් ලෝකයට පහළ වෙන්නෙ නෑ. ලොව්තුරා බුදුවරු, පසේ බුදුවරු, මහ රහතන් වහන්සේලා, චක්‍රවර්තී රජවරු වගේ මහා ගුණවතුන් පහළ වෙන්නෙ ඉතාම කලාතුරකින්. "යත්ථ සෝ ජායතී ධීරෝ" යම් තැනක යම් කලෙක ඒ වගේ මහා පුරිසයන් පහළ වුනොත්, "තං කුලං සුඛ මේධතී" ඒ කුලයට, ගමට, රටට, තුන් ලෝකයටම මහත් සැපය පිණිස, සැනසිල්ල පිණිස හේතු වෙනවා.

ලෝකයේ ඇත්තු හිටියට දළ තියෙන ඇත්තු ඉන්නෙ ඉතා අඩුවෙන්. දළ ඇත්තු අතරත් ගජ මුතු තියෙන ඇත්තු ඉන්නෙ බොහොම කලාතුරකින්. ලෝකයේ සාමාන්‍ය ගස්, වල් ගස් ඕන තරම් තියෙනවා. ඒ ගස් අතර සඳුන් වගේ ඖෂධීය ගුණ තියෙන වටිනා ගහක් හැදෙන්නෙ ඉතාම කලාතුරකින්. මේ වගේ තමයි ලෝකයට වැඩදායක, ලොව්තුරු මග පෙන්වා දෙන උතුමන් ලෝකයේ පහළ වෙන්නෙත් ඉතාම දුර්ලභව.

"සප්පුරිසෝ භික්ඛවේ කුලේ ජායමානෝ බහුනෝ ජනස්ස හිතාය සුඛාය සංවත්තති" මහණෙනි, සත්පුරිස උත්තමයෙක් යම් කුලයක ඉපදුනොත් බොහෝ ජනයාට හිත සුව පිණිස පවතිනවා. මේ බුදු වදනට අනුව මේ යුගයේ පිරිහිලා ගිය සම්බුද්ධ සාසනය නැවත නගා සිටුවන්න, සංසාර පැතුමක් අනුව බුද්ධ විවරණ ලබමින් ආපු මහා සත්පුරිස උතුමෙක් තමයි වහරක අභයරතනාලංකාර හාමුදුරුවො කියන්නෙ.

"තථාගතස්ස වේදිතෝ භික්ඛවේ ධම්ම විනයෝ විවටෝ විරෝචති නෝ පටිච්ඡන්නෝ"තථාගයන් වහන්සේ විසින් දෙසා වදාළ ධර්ම විනය විවෘත වුනාම බබලනවා, වැහුනොත් බබලන්නෙ නෑ. (අ. නි. තික නිපාත)

මේ විවෘත වෙනව කියන්නෙ, නිවැරදි දහම් අර්ථත් සමග ශ්‍රී සද්ධර්මය ලෝකයට විද්‍යමාන වෙන එක. වැරදි විදිහට ඉගෙන ගත්තොත්, වැරදි පද ව්‍යඤ්ජන සහිතව ඉගෙන ගත්තොත් ධර්මයේ අර්ථයත් වරදිනවා. ඒ වගේම නිවැරදි වැදගත් සූත්‍රාන්ත, නිවැරදි පද ව්‍යඤ්ජන සහිතව ඉගෙන ගන්නකොට අර්ථය මැනවින් වැටහෙනවා. මේ කාරණය සංයුක්ත නිකායේ ඨිති පහාණ සූත්‍රවල සඳහන් වෙනවා.

තථාගත ශ්‍රී සද්ධර්මය නිවැරදි අර්ථ විවරණ සහිතව ලෝකයට මතු වුනොත්, රහතන් වහන්සේලා, ධ්‍යාන ලාභීන්, අභිඥා ලාභීන්, මගඵල ලාභීන් ලෝකයටම බිහි වෙලා දෙව් මිනිසුන්ට මහත් යහපතක් සිද්ධ වෙනවා.

ඉමස්මිං බෝ සුභද්ද ධම්ම විනයේ අරියෝ අට්ඨංගිකෝ මග්ගෝ උපලබ්භති ඉධේව සුභද්ද සමණෝ ඉධ දුතියෝ සමණෝ ඉධ තතියෝ සමණෝ ඉධ චතුත්ථෝ සමණෝ සුඤ්ඤා පරප්පවාදා සමණේහි අඤ්ඤේ (දීඝ නිකාය - <u>මහා පරිනිබ්බාන සූත්‍රය</u>)

සුභද්දය මේ ධර්ම විනයේ අරි අටඟි මග විද්‍යමාන වෙනව නම්, පළවෙනි දෙවෙනි, තුන්වෙනි, හතර වෙනි ශ්‍රමණයන් ලොවට විද්‍යමාන වෙනවා. මේ ශ්‍රමණයන් හතර දෙනා කියන්නෙ මගඵල ලාභී ආර්යන් වන සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරිහත් කියන සතර මග සතර ඵල ලාභීන්. බුදු සසුනෙන් බැහැර පරප්පවාදවල මේ ශ්‍රමණයන් පහළ වෙන්නෙ නෑ. (සමණෝ නත්ථි බාහිරේ)

ඉර හඳ වළාකුළුවලින් වැහුනෙ නැත්නම් ආලෝකය දෙමින් බබළනවා. වළා ගැබෙන් වැහුනම ඉර හඳේ බැබළීමක් වෙන්නෙ නෑ. ඒ වගේ තථාගතයන් වහන්සේ දෙසා වදාළ ධර්ම විනය විවෘත වුනාම බබළනව කියන්නෙ, මේ ශ්‍රමණයන් හතර දෙනා ලෝකයේ විද්‍යමාන වෙනව කියන එක. මේ හතර දෙනා ලෝකයේ නැත්නම් ධර්ම විනයත් යට ගිහින්. එතකොට ආර්ය උතුමන්ගෙන් සාසනය බබළන්නෙ නෑ. ධර්මය වැහුනම බබළන්නෙ නෑ කියන්නෙ ඒකයි.

බුද්ධ සාසනය පිරිහෙන්න හේතු වෙන බොහෝ කාරණා තථාගතයන් වහන්සේ දේශනා කරල තියෙනවා. එයින් රත්තඤ්ඤූ මහන්තතා, වේපුල්ල මහන්තතා, ලාභග්ග මහන්තතා, බාහුසච්ච මහන්තතා කියල කාරණා 4 ක් සමහර තැන්වල පෙන්වා තියෙනවා.

සාසනය දිගු කලක් යනකොට නොයෙක් කඩ කිළුටු මතු වෙනවා. බුද්ධත්වයේ පටන් වසර 20 ක කාලය මුල් බුදු සමය විදිහට හැඳින්වෙනවා. ඒ කාලය තුළදි විනය සික්ෂාවන් පනවන්න තරම් තදබල වැරදි භික්ෂූන් වහන්සේලා අතින් සිද්ධ වෙලා නෑ. ඒ වගේම වැඩි පිරිසක් මගඵල නිවන් පසක් කරගෙන තියෙන්නෙත් මේ කාලයේ.

මුල් බුදු සමයේ සාසනයට ඇතුලත් වෙලා තියෙන්නෙ ඉතාම කෙළෙස් අඩු (අල්ප රජස්ක) ප්‍රඥාවන්ත පිරිස්. ඒ නිසා වැඩි පිරිසක් ඒ කාලය තුල අරිහත්වයට පත් වෙලා තියෙනවා. ඊට පස්සෙ කෙළෙස් අඩු ප්‍රඥාවන්තයින්ගෙ අඩු වීමත්, බොහෝ කෙළෙස් බහුල (මහා රජස්ක) පුද්ගලයන් සාසනයට ඇතුළු වීමත් නිසා නොයෙක් අකටයුතුකම් සිද්ධ වුනා. ඒ නිසා බුදු රජුන්ට භික්ෂූන්ගේ සංවරත්වය පිණිසත්, නොපැහැදුන අයගේ පැහැදීම පිණිසත්, පැහැදුන අයගේ වැඩි පැහැදීම පිණිසත් වැට කඩොලු බඳින්න, විනය නීති පනවන්න සිද්ධ වුනා. ඊට පස්සෙ අරිහත්වයට පත්වෙන පිරිස් පවා ක්‍රමයෙන් අඩු වෙලා සාසනයේ යම් පසුබෑම් තත්ත්වයක් ඇතිවෙලා තියෙනවා. ඒ වගේ සාසනය දිගු කලක් යනකොටත් පිරිහීමට පත්වෙනවා. "රත්තඤ්ඤූ මහන්තතා" කියන්නෙ ඒකට.

තථාගතයන් වහන්සේ ජීවමාන කාලයේම ඇතැම් භික්ෂූන් ධර්මයට වැරදි අර්ථකථන දෙමින් සද්ධර්ම ප්‍රතිරූපක මතු කළ බව බුද්ධ දේශනාවල සඳහන් වෙනවා. තථාගතයන් වහන්සේ ජීවමානව වැඩ සිටි ධර්මාන කාලයේමත් එහෙම වුනා නම්, වසර දහස් ගණනක් ගෙවී තියෙන මේ යුගයේ ධර්මයට දුර්මත එකතු වුනයි කීම පුදුමයට කාරණයක් නෙවෙයි. සාසනය බොහෝ කලක් යනකොට වෙනත් මත සමග මිශ්‍ර වෙලා දහම යටපත් වීම වේපුල්ල මහන්තතා කියල හඳුන්වනවා.

ඊළඟට සාසනය පිරිහෙන්න හේතු වෙන කාරණය තමයි "ලාභග්ග මහන්තතා" කියන්නෙ. මහණෙනි, ලාභ සත්කාර කීර්ති ප්‍රසංසා දරුණුයි, කටුකයි, පරුෂයි, උතුම් නිවන අවබෝධ කිරීමට අනතුරුදායකයි. ඒ නිසා මහණෙනි, උපන් ලාභ සත්කාර කීර්ති ප්‍රසංසා බැහැර කරන්න, එයින් තමන්ගෙ සිතට හානි කරගන්න එපා.

බිලී බාන්නෙක් ඇම සහිතව බිලී කොක්ක දියට දම්මම මාළුවා ඒක ගිලිනවා. ඒ හේතුවෙන් ඌ දුකට විනාසයට පත් වෙනවා. බිලී වැද්දට කැමති දෙයක් කරන්න පුළුවන් වෙනවා. ඒ වගේ ලාභ කීර්ති ප්‍රසංසාවලට කැමති වෙනව නම්, ක්ලේශ මාරයා විසින් ඔහුට කැමති දෙයක් කරන්න පුළුවන් වෙනවා. මේ අනතුර දැකල ලාභ සත්කාර කීර්ති ප්‍රසංසා දුරින්ම දුරු කරල දාන්න ඕන.

**ඊළඟට උගතුන් බිහි වීමත් සාසනය පිරිහිලා ධර්මය අතුරුදන් වෙන්න තව හේතුවක්.** ධර්ම විනය පිළිබඳ බහුශ්‍රැත වීම යහපත් වුනාට භික්ෂූන්ට අදාළ නොවන නොයෙක් භාෂා සාස්ත්‍රයන්, වෙදකම, ජ්‍යෝතිෂය... ආදී නොයෙක් බාහිර සාස්ත්‍ර භික්ෂුවට අවශ්‍ය නෑ. භික්ෂුව කියන්නෙ නිවන් දකින්න කැප වෙච්ච ජීවිතයක් ගත කරන උත්තමයෙක්. ඒකට ධර්ම විනයේ අවබෝධය හොඳටම ප්‍රමාණවත්. වර්තමානයේ වෛද්‍ය උපාධි, නීති උපාධි ආදිය ලබන්න තරම් භික්ෂුව බුදු සසුනෙන් ඈත් වෙලා. මුළු භික්ෂු අධ්‍යාපනයම ගිහියන්ට අදාළ බාහිර විෂය නිර්දේශවලින් යුක්තයි.

**නොයෙක් බාහිර සාස්ත්‍ර ඉගෙන ගෙන උපාධි ලබල වැඩි දෙනෙක් උපැවිදි වෙනවා. තව පිරිසක් පැවිද්දේම රැඳිල පාසැල්වල, පිරිවෙන්වල උගන්වමින් ගිහියන් වගේ රැකියාවන් කරල රජයෙන් වැටුප් ගන්නවා. භික්ෂුවට අයිති කටයුතුවලින් ඉවත්වෙන කොට සාසනය පිරිහීමට පත් වීම ගැන පුදුම වෙන්න දෙයක් නෑ. මේ වගේ දේවල් සිද්ධ වෙනකොට ආර්යන් බිහි වෙලා සම්බුද්ධ සාසනය බැබළෙන්නෙ කොහොමද?**

"න භික්ඛවේ ලෝකායතං පරියාපුණිතබ්බං, න භික්ඛවේ ලෝකායතං වාචේතබ්බං" මහණෙනි, බාහිර සාස්ත්‍ර ඉගෙනීම ඉගැන්වීම දෙකම ඔබලාට ගැලපෙන්නෙ නෑ කියල විනය නීතිත් පනවල තියෙනවා. "බාහුසච්ච මහන්තතා" කියල උගතුන් බිහිවීමත් සාසන පරිහානියට හේතුවක්.

සාසනය පිරිහෙන්න හේතුවෙන තවත් බොහෝ කාරණා සද්ධම්ම සම්මෝස සූත්‍රය, සුගත විනය සූත්‍රය, අනාගත භය සූත්‍රය, සද්ධම්ම ප්‍රතිරූපක සූත්‍රය වගේ දේශනාවල සඳහන් වෙනවා. ඊට අමතරව මහා සුපින ජාතකයේ කොසොල් රජතුමා දැකපු සිහින 16 ත් සාසන පරිහානි කරුණු විදිහට සඳහන් වෙලා තියෙනවා. ඒ සිහින 16 න් බොහොමයක් මේ වෙනකොට හැබෑ වෙලා තියෙන බව ඇස් පනාපිටම දැකගන්න පුළුවන්.

වර්තමාන කාලය කියන්නෙ ඒ වගේ සාසනය පිරිහිලා ධර්මය යටපත් වෙලා සද්ධර්ම ප්‍රතිරූපක ධර්මය, විනය විදිහට සමාජගත

වෙලා තියෙන කාලයක්. මේ වගේ කාලයක ධර්මය මතු කරල දෙන එක ලේසි නෑ. ඒකට නොයෙක් විරුද්ධවාදී බලවේග ක්‍රියාත්මක වෙනවා. **ධර්මය මතු කරල දෙන සත්පුරිසයා ධර්මය විකෘති කරන, සාසනය වනසන්න ආපු අපරාධකාරයෙක් විදිහට දකිනවා. නොයෙක් නින්දා අපහාස බොරු චෝදනා කරමින් විරුද්ධව කටයුතු කරන්න පෙළඹෙනවා.** තථාගතයන් වහන්සේට වුනත් සාසනය නගා සිටුවන්න යනකොට නොයෙක් විරුද්ධ බලවේගවලට මුහුණ දෙන්න සිද්ධ වුනා. යුධ පිටියකට එළඹුනු හස්ති රාජයෙක් සතර දිසාවෙන් එන හී පහරවල් ඉවසගෙන ඉන්නව වගේ තථාගතයන් වහන්සේත් දුස්සීල බහු ජනතාවගේ නින්දා අපහාසාදිය ඉවසගෙන අකම්පාව වැඩ සිටියා.

වර්තමාන කාලය කියන්නෙ ඒ විදිහට සාසනය පරිහානිය කරා යන යුගයක්. ඒ වගේ යුගයක සද්ධර්මයේ සැඟවුනු තැන්, අර්ථ විපරීතයන් නිවැරදි කරල, පණ අදිමින් තිබ්බ සාසනයට පුනර්ජීවයක් ලබා දෙන්න වහරක අභයරතනාලංකාර හිමියන්ට හැකියාව ලැබුනා.

වහරක හාමුදුරුවො මට මුණ ගැහුනෙ 2001 වර්ෂයේ අග භාගයේදි. අබේරත්න මහත්තය විදිහට ගිහි වතක ඉදෙද්දි, දවසක් මිහිරිගම ප්‍රදේශයේ ආරණ්‍ය සේනාසනයක සිද්ධ කරපු බෝධි පූජාවකට මට සහභාගි වෙන්න අවස්ථාව ලැබුනා. පටිභාන කවිවලින් සිද්ධ කළ ඒ බෝධි පූජාව අවසානයේ පැය කිහිපයක ධර්ම සාකච්ඡාවකුත් කළා. ඒ සාකච්ඡාව අහගෙන හිටපු මට වැටහුනා, මේ මහත්තය නම් බුදු දහමේ අපි නොදන්න හරවත් යමක් දන්නව කියල.

දින කිහිපයකින්ම ඒ මහත්තය දහම් කටයුතු සෙත් ශාන්ති ආදිය කරපු ගිජිදාගම ආරාමයට මම මුලින්ම ගිය දවසෙ, හවස 5.00 ට විතර පටන් ගත්ත ධර්ම සාකච්ඡාව රාත්‍රී එළිවෙනකල් කරල, පහුවදා උදේ 10.00 ට විතර තමයි අවසන් වුනේ.

මගේ ජීවිතයේ කවදාවත් අහල තිබුනෙ නැති දහම් විග්‍රහයන් වගේම ලෝකයේ යම් යම් දේවල් පිළිබඳ පුදුම සහගත හිතා ගන්නවත් බැරි යථාර්ථවාදී විග්‍රහයන් ඒ ධර්ම සාකච්ඡාවෙදි අහන්න ලැබුනා. මමත් වසර 12 ක පමණ කාලයක් සත්‍යය සොයා ගිය ගමනේ හොඳ සන්ධිස්ථානයකට වැටුන බව අවබෝධ වුනා.

අභයරතනාලංකාර හිමියන් අපවත් (පැවැත්ම අවසන්) වෙනකල් වසර 16 ක පමණ කාලයක් ධර්ම සාකච්ඡා ආදිය සිදු කරමින්, නිවැරදි විමුක්ති මාර්ගය මොකක්ද කියල සැක හැර ගත්තා. ඒ ඇසුරු කරපු කාලය තුල යථාවාදී තථාකාරී ගුණ ප්‍රකට කරමින් උන්වහන්සේ තුල තිබ්බ නිහතමානී, නිරහංකාරකම, ඕනෑම දෙයක් ඉවසීමේ හැකියාව, පරාර්ථ සේවය... ආදී ගුණ ප්‍රකටව දකල තියෙනවා. වසර 12 ක පමණ කාලයක් සැබෑ භික්ෂුවක් විදිහට පැවිදි ජීවිතයක් ගත කරල සත්‍යාවබෝධ කර ගත් ඒ අනුබුදු පහන නිවී ගියා.



උන්වහන්සේටත් එදා බුදුන් වහන්සේට වගේ නොයෙක් නින්දා අපහාස බොරු චෝදනාවලට මුහුණ දෙන්න සිද්ධ වුනා. උන්වහන්සේ ඒ කිසිවකටත් කලබල නොවී අකම්පාව එඩිතරව කටයුතු කරමින් සම්බුදු සසුන බබළවන්න කටයුතු කරල නිවී සැනසී වදාළා.

සමහර අටුවාවල ක්‍රි. ව. 2500 - 3000 අතර මේ කාලය විමුක්ති යුගය හැටියට පෙන්වල තියෙනවා. මේ වගේ කාලයක සත් ධර්මය මතුවෙලා විමුක්තිය උදා කර ගන්න හේතු වාසනා තියෙන පිරිස්වලට ඒ භාග්‍යය උදා කරගන්න අභයරතනාලංකාර මහ යතිවරයාණන්ගේ පහළ වීම හේතු වුනා. විමුක්ති යුගය සැබෑ යථාර්ථයක් කරන්න උන්වහන්සේ දිවා රාත්‍රී, සමහර අවස්ථාවල නිදිවර්ජිතව කටයුතු කරල තියෙන බව 16 වසරක අපේ අත්දැකීම්වලින් දන්නවා.

ව්‍යක්ත, විසාරද, විනීත, බහුස්සුත ධම්මධර, ධම්මානු ධම්ම පටිපන්න භික්ෂුව සංඝයා බබළවන බව බුද්ධ දේශනාවක්. වහරක අභයරතනාලංකාර හාමුදුරුවොත් මේ සංඝ සෝභන ගුණවලින් හෙබි මහා පුරිසයෙක්.

මේ උතුමාගේ පහළවීම හේතු කොටගෙන ඒ ධර්මයෙන් අද විසාල පිරිසක් සැනසීම ලබන අතරම ධ්‍යාන මගඵලවල අත්දැකීම් ලබල තියෙනවා. මේ පහළ කරපු කළණ වැට තවත් බොහෝ කාලයක් නොකැඩී පැවතිලා සත්ත්වයාට විමුක්තියේ දොරටු විවර වේවි. ඔබත් එහි කොටස්කාරයෙක් වෙලා මේ දහම මතු කරල නිවී සැනසී වදාළ ඒ මහා සත්පුරිස උතුමාට සැබෑ ගෞරවය ප්‍රතිපත්ති පූජාවෙන් සිද්ධ කරන්න අදිටන් කර ගනිත්වා !

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය - මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**



# වහරක හිමියන් ගැන සැබෑ තතු බිඳක්! අවසරයි අපේ හාමුදුරුවනේ...

ගලන මහ ගඟක් මොහොතකින් නැවතුණා සේ ඔබ වහන්සේ නැවතුණි. අවසානයක් නොමැති කතාවක් සේ ඔබ වහන්සේ නිවුණි. හිත මගෙන්ම බොහෝ පැන විමසයි. ඒවාට පිළිතුරු සොයන්නත් පෙර නැවත විමසයි. සෑම පැනයකටම පිළිතුර නිහඬ බවයි. පෙර දා නැගුණු සෑම පැනයකටම විසඳුම් ලබා දුන් ඔබ වහන්සේ පිළිබඳව නැගෙන පැනයට තවම විසඳුමක් නැත.

ඔබ වහන්සේගේ ගමන කෙළවර වීම පිළිබඳව කිසිම අයුරකින් දුකක් සෝකයක් නොනැගෙනු ඇත. එය කෙදිනකවත් දෑසට කඳුලක් නොනගනු ඇත. සියලු දුකෙන් මිදෙන්න දහම් දෙසූ ඔබ වහන්සේ ඒ මග අනුගමනයද කළ සේක. ඔබ වහන්සේගේ කෙළවර දුකින් මිදීම බව පැහැදිලිය. ඉතින් අපි සෝක කරනුයේ කුමකටද?

නමුත් මෙලෙස නිහඬ අවසානයක් නම් බලාපොරොත්තු නොවිමි. ඔබ වහන්සේගේ පාරමිතාවද දනිමි. ඔබ වහන්සේ තුල වූ උතුරු මිනිස් දම්ද දනිමි. ඔබ වහන්සේ වැනි උත්තමයන් ලොව පහළ වන්නේ අති කලාතුරකින් බවද දනිමි. එබඳු මහා ශක්ති ධාරාවක් නිහඬවම නිසලව අප්‍රසිද්ධියේම නැවතීම සංවේගයක් ඇති කරයි. ඔබ වහන්සේ ඒකාන්තයෙන් පිරිනිවී ගිය බව දැනෙන්න සටහනක් නොතබාම නැවතුණි. අනුමාන ලෙස දැන ගැනීමට ලැබුණු එකම සටහන නම්,

“මට උප්පත්ති පටිලාභයක් නෑ, තියෙන්නෙ භව පටිලාභය විතරයි. පූර්ණ කරනකල් කය පවත්වන්න බැරි වුනොත් අන්තරා පරිනිබ්බායී අවස්ථාවකට පත්වෙයි” කියන දෙසුම පමණි.

එබැවින් ඔබ වහන්සේ මේ කාම, රූප, අරූප යන ගර්භාවාසයට නැවත නොපැමිණෙනු ඇත. බොහෝ අපවාද උපවාද, කෙනෙහෙළිකම්, කරදර බාධක, කායික මානසික පීඩාවන්හි නොසැලී මහා ගමනක් වැඩි ඔබ වහන්සේගේ නිහඬ ගමන නිතර නිතර මා සිත සංවේගයට පත් කෙරෙමින් පවතී.

ඔබ වහන්සේ දහම් දෙසන විට ධර්මය විකෘති කරනවා යැයි ගිහියන් පැවිද්දන් බොහෝ පිරිසක් චෝදනා කළහ. හේතු ඇතුවම පෙළ දහමට අනුවම කරුණු පෙන්වා දුන් නමුත් ඒවා තෝරා ගැනීමට තරම් මොළයක් බුද්ධියක් ඔවුන්ට නොතිබුණ බවද වැටහේ. තෝරා ගැනීම කෙසේ වෙතත් පහර ගසන්නට සැදී පැහැදී සිටියෝ බොහෝ වූහ. ඔවුන් කතෝලික, මුස්ලිම්, හින්දු ආදී අන්‍යාගමිකයෝ නොවූහ. කරුමයක මහත! ලෝක සම්මතයේ බෞද්ධ භික්ෂූන් සහ උපාසක යැයි සම්මත පිරිසම විය.

කුඩා කල සිට පැවිදි දිවියක් ගත නොකළත්, ඔබ වහන්සේට දහමේ සැඟවුණ තැන් විවර කරන්න මහා ප්‍රඥාවක් තිබුණි. පෙර අත්බවයක, අරිහතුන් වහන්සේලා මේ හෙළ දිව වැඩ සිටි කාලයේ ඉපිද, උන්වහන්සේලාගෙන් දහම් අසා සෝතාපන්න ඵලය සාක්ෂාත් කර තිබීම එයට හේතුව බව ඔවුන් අදටද දන්නේ නැත. විශ්වාසයක් නැති බැවින් පිළිගන්නේද නැත. කෙසේ හෝ ඔවුන් පහර ගැසුවේ ඔබ වහන්සේට නොව, නැගෙන සම්මා සම්බුද්ධ සාසනයට බව ඔවුහු නොදනිති. ඔබ වහන්සේට නැගෙන්නට ඇති ඉඩ අහුරා දැමූ ඔවුන් එසේ ඉඩ අහුරන ලද්දේ උතුම් සම්මා සම්බුද්ධ සාසනයේ නැගීමට බව නොදනිති.

අද රට පුරා ඇති ඉඩෝරයට හේතුවත් එයම බව ඔවුහු නොදනිති. මන්ද යහපතට ඉඩ අහුරන විට එන ඵලය ඉඩෝරයයි. ඔබ වහන්සේගේ කය දුබලවන තරමට වස විස දුන්නා වූ පිරිස් මෙන්ම, අන්තිම කාලයේදී ඉන්දියාවේ සිට පවා කළා වූ හිර බන්ධන ආදියෙන් දුබල වූයේ ඔබ වහන්සේ නොව, නැගෙන සම්මා සම්බුද්ධ සාසනය බව ඔවුන් දන්නේ නැත. රජ මාලිගා තනවා බුදුන් වහන්සේට පූජා කළද, ඒ කර ගත්තා වූ මහා පාපයන්ගේ විපාකය විඳිනු ඇත.

වසර දෙදහස් පන්සියයකට පසු දියසෙන් කුමාරයා පැමිණ රට ජාතිය ආගම විප්ලවීය වෙනසකට යොමු කරන තෙක් සිංහලයා බලා සිටිනු ඇත. දියසෙන් කුමාරයා පහළව නිහඬවම ඒ මහා සේවය ලක්දිවට පමණක් නොව, මේ මුළු ලෝකයටත්, සක්වලටත්, දස දහසක් සක්වලටත්, ඉන් එහාටත් අපරිමිතව සිදු කළ බව දන්නේ ඉතාම සුළු දෙනෙක් පමණි. කාශ්‍යප බුදු පියාණන්ගෙන් ලත් විවරණයක් ඔබ වහන්සේට තිබුණු බව ඔබ වහන්සේගෙන්ම අසා තිබුණි. ඒ, දියට සෙත් කරන්නටය. **පෙර කලෙක අනිසි ලකුණ අනිත්‍ය කොට කටයුතු කළ ඇත්තන්ම, දියසෙන් කුමරාද දියසෙන් කුමරා කොට සඟවා දැමූ බව කෙසේ දැන ගන්නද?**

**දුර්ලභ වූ පටිභාන කවීත්වය මේ යැයි ලොවට කියා පෑවේ ඔබ වහන්සේය. විනාඩියක් තුල කවි තුන හතරක් අක්ෂර, ගණ, මාත්‍රා සහිතව ගෙතීමේ හැකියාව ඔබ වහන්සේට තිබූ බවට පටිගත කරන ලද කාව්‍යමය දේශනා නිහඬ සාක්ෂියක් වනු ඇත.**

අටවිසි බුදු පියාණන් වහන්සේලා ලොවට විහිද වූ අපරිමිත මහා ශක්තිය, ඔබ වහන්සේ ජය ශ්‍රී මහ බෝධිය හරහා ඇද ඇද මහ සෙත් කිරණින් වළලු බවට පත් කර විශ්වය පුරා විහිදවීය. විශ්වයේ විස කළු කිරණ කපා ඒ සෙත් කිරණ වළලු නැවතත් පොළොවට ළං වෙමින් පවතින බවද ඔබ වහන්සේ දෙසා ඇත. අද විද්‍යාඥයන් විශ්වයේ දියමන්ති වළලු නිරීක්ෂණය කළත්, ඔබ වහන්සේ නැගූ ඒ සද්ධර්ම චක්‍රවර්තී පාලනය පිළිබඳව ඔවුන්ගේ භෞතික උපකරණවල සටහන් නොවනු ඇත. සද්ධර්ම චක්‍රවර්තී යෝගය ඔබ වහන්සේගේ අත්ලේ රේඛා අතර සටහන්ව තිබූ බව දන්නේ ස්වල්ප දෙනෙකි. සක්විති රජවරු හත්දෙනෙකුට වඩා බල ඔබ වහන්සේ සතු විය. සිදු වන්නට ගිය ලෝක විනාසයෙන් සත්ත්වයන් මුදා ගන්න මැදිහත් වූයේ ඔබ වහන්සේය. බුදු පියාණන් වහන්සේ විහිද වූ අප්‍රමාණ ආශිර්වාදයෙන් ශ්‍රී හස්තයන් මැවී දස දහසක් සක්වලට මහ රැකවරණ විහිදුනේ ඔබ වහන්සේ කළ අතරමැදි කාර්ය නිසා බව මිහිපිට මිනිසුන් නොදන්නා මුත් දෙව් බඹ පිරිස නොදන්නවා විය නොහැක.

එදා රාවණා පරපුරේ නැගීමට පුලතිසි ඍෂිවරයා ලබා දුන් මහා බලය, ශක්තිය අදද රාවණා පරපුරේ නැගීමට ඔබ වහන්සේ ලබා දුන්නා වූ මහා බලයට කෙසේ නම් දෙවනි වේද? බයිබල් ධර්මයේ ඇතුලත් වන "අවසන් විනිශ්චය" මෑත කාලයේ විශ්වය තුළ සිදු වුණ බව කතෝලිකයෝ පවා නොදනිති. ඒ හේතුවෙන් පොළොවේ පස, මුහුදු ජලය, වායුගෝලීය සංයුතිවල පවා වෙනසක් සිදු වී ඇති බව ඔබ වහන්සේ දෙසූ බව මතකය.

අද පහළව ඇති නොයෙක් අනු බුදුවරු අතර ඔබ වහන්සේ සැබෑම අනු බුදුවරයන් වහන්සේ නමක් බවද දනිමි. පෙර දවස සිදුහත් බුදු පියාණන් වහන්සේ ප්‍රමුඛ ලක්ෂයක් මහ රහතන් වහන්සේලා උදෙසා නෙළුම් හැඩයට නෙළුම් සුවඳ කවා කළ කිරිබත් පූජාව ඒ ශ්‍රාවක බෝසත් ගුණයේ ඇරඹුම බවද දනිමි.

අසා දැන ගත් පරිදි ඔබ වහන්සේ පිළිබඳ මේ බොහෝ දෙනා දත් නොදත් තොරතුරුය. ඔබ වහන්සේ මතු කළ සදහම් මග අනුගමනය කර සිවුපිළිසිඹියාවන් සාක්ෂාත් කර ගන්නා උත්තම උත්තමාවියන් අනාගතයේදී බොහෝ වනු ඇත. උන්වහන්සේලා එකල ඔබ වහන්සේගේ ගුණ කඳ ගයනු ඇත. සිංහයකුගේ තරම දන්නේද සිංහයෙකි. කැනහිල්ලු කෙසේ නම් දැනගන්නද? සිංහයන් දඩයම් කළ ගොදුරුවල බොකු කුණු කන කැනහිල්ලු සිංහයන්ටම ගරහති. බුදුන් කල සිදු වූ එවැන්නක් සූනක්කත්ත සූත්‍රයේ සඳහන්ය. එදත් අදත් හෙටත් ඒ කැනහිල් හූ හඬ නොනවතිනු ඇත. සිංහයන් කෙදිනකවත් ඒ හඬට බිය වී පලා නොයනු ඇත.

එකින් එක ඔබ වහන්සේ ගැන හදවත උතුරා යන සිතිවිලි නැගෙයි. තෙරපෙන සිතිවිලි මොළයට වැදී ඇඟිලි තුඩු දඟලවයි. ඒ හැම එකක්ම ලියන්න ගියොත් පෑනේ තීන්ත අවසන් වනු ඇත. ඔබ වහන්සේ පිළිබඳ මතකයන්, ගුණයන් අවසානයක් පෙනෙන තෙක් මානයක නැත. ඔබ වහන්සේගෙන් පමණක් මා ඇසූ ඒ පිරිත් ස්වරය ඉන් එකකි. වචන පද ලෙස නොව, අකුරෙන් අකුර නැගෙන ඒ පිරිත් සජ්ඣායනාවේ ප්‍රතිඵල අත් විඳින්නට තරම් මම භාග්‍යවන්ත වීමි.

විවිධ රෝග ගණනාවකටම ඔබ වහන්සේ සමාධිමය ඖෂධ මතු කර දුනි. එය ඉතා කලාතුරකින් ලොව පහළව ඉතා ඉක්මනට යටපත්වන ක්‍රමවේදයක් බව ඒ ඖෂධ සැකසූ පිරිසත්, ප්‍රතිකාර ලැබූ පිරිසත් දැන සිටින්නට ඇද්දැයි සැක සහිතය. ඖෂධය වන්නේ එකතු කරන සංයෝග නොව, සංයෝගයන්ගේ එකතුව නිසා ශක්ති කිරණවල ක්‍රියාකාරීත්වය ඇති වීමයි. රෝග සුවපත් වන්නේ එම කිරණ ක්‍රියාකාරීත්වය හේතුවෙනි. ඔබ වහන්සේ ලොවට දුන්නේ එවැනි දුර්ලභ ඖෂධ ශක්තියයි.

**යන්තර මන්තර කටයුතුවල කියැවෙන පොත් ගුල් හතර සැබෑවටම පවතින්නක් බව ඔබ වහන්සේ ජීවමාන සාක්ෂියක් විය. මෙලොව ක්‍ෂුද්‍ර ජීවියාගේ පටන් පෙනෙන නොපෙනෙන සියළු සත්වයන්ගේ තොරතුරු එහි ඇතුලත්ව ඇත. සත්වයන්ට වැළඳෙන ලෙඩ රෝගද, ඒ ඒ සත්වයන්ට කර්ම විපාක ඵල දෙන අයුරුද, ලෝකයේ පරිණාමය පිළිබඳ සියළු දත්තද අඩංගු ඒ මහා පොත්ගුල් හතර පරිහරණය කිරීමට ඔබ වහන්සේට හේතු වාසනාව සහ හැකියාව තිබුණි.** ඔබ වහන්සේට එවැනි නොකියාම බැරි හැකියාවන් තිබුණු බව සැබෑවක්මය. මේ සියල්ල ගැන අප දැනුවත් වූයේ ඔබ වහන්සේගේ දෙසුම් තුලින්මය. ඒ ඔබ වහන්සේ පිළිබඳ වූ විස්වාසය නිසාවෙනි.

කෙසේ හෝ දන් සියලු දේ අවසානය. මේ සා මහා යුග පුරුෂයෙක් වූ ඔබ වහන්සේ නිහඬවම නිවීයාම පිළිබඳව නැවත නැවතත් සිත තුල සංවේගයක් ජනිත වේ. කවදා හෝ චිත්ත ප්‍රභාෂ්වරත්වය නැගෙන තෙක් විසඳුම් නොමැති පැන රැසක් ඉතිරිය. එසේ වුවද ඔබ වහන්සේ ලද විමුක්තිය නිරාමිස සතුටක් ඇති කරයි. වීර්ය වඩවයි. ඔබ වහන්සේ දෙසූ වදනක් සිවු මසකට පෙර අසන්නට ලැබීමි.

**"මහත්තයෝ මිල්ල ගහ මළාට පස්සෙ තමයි ඇට පැළ වෙන්නෙ."**

මෙය සවනතට වැටුණු මොහොතේ මා තුළ සංවේගයත්, ආත්ම දෝෂාරෝපණයත් ඇති වූ බව සැබෑය. මා විසින් අදිටන් තැබුවත් වෙර වැඩුවත් නොසිතූ මොහොතක ඔබ වහන්සේ මිල්ල ගස විය.

ඔබ වහන්සේ තුළින් නැගුණු ඒ දයා ගුණය මා තුල සදා මතකයේ රැඳේ. ඔබ වහන්සේගේ බැනුමකද ඇති වටිනාකම අසීමිත බව දනිමි. මා කෙරෙහි කරුණාවෙන් ඔබ වහන්සේ අනුසාසනා පෙළහර පමණක් නොව උතුරු මිනිස් දම් ගුණයෙන් පෑ පෙළහරද මම දනිමි.

තුන් ලොවට අග්‍ර වූ ලොව්තුරා බුදු පියාණන් වහන්සේගේ සාසනය තුල ඔබ වහන්සේ මට සුළු පියාණන් වැනිය. පියා නැති කල දරුවන්ට රැකවරණය ලැබෙනුයේ සුළු පියාගෙනි. එබැවින් අදද මතුද ඔබ වහන්සේගේ දරු ගුණය නොඉක්මවන්නෙමි. ඔබ වහන්සේ දුන් සදහම් ආලෝකයෙන් ලොව අනිසි, දුක්, අනත් ලෙස යථා තතු දකිමි. බොහෝ ජනයාගේ හිත සුව පිණිස, නිවන් පිණිස ඒ උතුම් සදහම් කළණ වැට හැකි පමණින් පවත්වන්නෙමි.

මේ ඔබ වහන්සේට
මාගේ නමස්කාරයයි!

**අවිස්සාවේල්ලේ පියරතන හිමි**



# ගුණ සිහි කරමු බැතියෙන්

බුදු පියාණන් වහන්සේ මහා කරුණාවෙන් යුක්තයි කියල අපි අහල තිබුනා. මේ මහා කරුණාව කියන්නෙ සුනීත, සෝපාක, රජ්ජුමාලා වගේ අසරණයින්ටත්, මහාමාත්‍ය රජවරුන්ටත් එක වගේ සැලකීම කියලයි අපි දැනගෙන හිටියෙ. නමුත් දවසක් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සෙනසුරාදා දිනවල සිදුකළ අති උත්තම බුද්ධ පූජා උපහාරය අහන්න ලැබුනා. මුළු බුද්ධ පූජාවම පැවැත් වුනේ සමාධිමය පටිභාන කවි මාලාවකින්. හිත හිතා ගොතල කියනව නෙවෙයි, නිරායාසයෙන් ගෙතිල එන කවි ගංගාවක්. අහගෙන ඉන්න ආස හිතෙන මහා අරුත්බර කවි.

අපේ මහ බෝසතාණන් වහන්සේ ත්‍රිවේදදේව නමින් සක්විති රජ කෙනෙක් වෙලා ඉපදුනු එක අත්බැවකදි, මනෝමය වශයෙන් කැමති දෙයක් මැවීමේ විශේෂ හැකියාවක් තිබුන බව සඳහන් වෙනවා. බුද්ධාපදානයේ සඳහන් වෙන විදිහට, ඒ රජතුමා තුන් ලෝකයේ තියෙන රන් රිදී මුතු මැණික් මනෝමය වශයෙන් තමන් ඉදිරිපිට රැස් කරල, රිදී පොළොවක් මවල, ඒ මත මහා බුද්ධ මන්දිරයක් රන් රිදී මුතු මැණික්වලින් හැඩ වැඩ ලියකම් ආදිය සහිතව මවල, ඒ බුද්ධ මන්දිරය ඇතුළෙ සුදු නෙළුම් මලින් ආසන පනවල බුදු, පසේ බුදු, මහ රහතන් වහන්සේලා මව මවා වඩා හිඳුවල, කිසි දේකින් අඩු නැති මහා දානයක් පූජා කරල තියෙනවා. මේ පූජාවේ අනුහසින් බුද්ධත්වය ලබන තුරුත්, කිසිම දෙයක් "නැත" යනුවෙන් කියන්න සිද්ධ නොවූ මහා ලැබීමක් තමන්ට ලැබුන බවත් සඳහන් වෙනවා. ඒ කියන්නෙ කිසිම දෙයකින් අගහිඟකමක් නෑ. මෙන්න මේ පූජාව අනුසාරයෙන් තමයි සෙනසුරාදා දිනවල වහරක බොදු සෙනසුනේ මනෝමය බුද්ධ පූජා උපහාරය සිද්ධ කෙරුණෙ.

කරුණා අමා දම් පිඬ වන්
මුනිඳුන්නේ
සිරි ගුණ රුව මවමු දිවමන් කල
මෙන්නේ
දිවමන් මුණි පියාණන් වැඩි
විලසින්නේ
වඩමමු මුණි පියාණන් හද
බැතියෙන්නේ

දෙතිසක් ගුණ රුවෙන් සිරි බුදු
බඳ මවමු
අසූ අනු ගුණ ලකුණු හෙබි
විලසිනි මවමු
දෙසියද සොලොස් සිරිපා
ලකුණුද මවමු
සිරිපා ලකුණු මත සිරි බුදු
බඳ මවමු

"හදවත් උතුම් සුදු බුදු මැදුරුම කරලා..." ආදී වශයෙන් මුලදිම තමන්ගෙ හදවත බුදු මැදුරක් කරගන්න කියල කවියෙන් අනුසාසනා කරල, මේ විදිහට ගුණ රුව කිය කියා බුදුවරු මවන කොට, අපේ හිත්වල මැවෙන්නෙ වෙනදා දැකපු පිළිම වහන්සේට වඩා මහා ගරුත්වයක් හදවතට දැනෙන, උන්වහන්සේගෙම වචනවලින් කියවෙන විදිහෙ ගුණ රුවක්. මේ විදිහට මහා සංඝයා වහන්සේලාගේ සංවර භාවය කියවෙන කවි අහගෙන ඉන්න අපට දැනෙන්නෙ, පේලියට සංවරව වඩින සංඝයා වහන්සේලා වඩමවන දර්ශනයක්. මේ විදිහට පූජාවට කලින්ම තෙරුවන් ගුණ කෙරෙහි මහා භක්තියකින් ගෞරවයකින් අපේ සිත් පුරවනවා. ඒ පිරුණු හිතින් ඉන්න අපට ආරාධනා කවි ඇහෙනවා.

අපමණ සියලු හැම සක්වලකම
ඉන්න
දෙව් බඹ සැමට නද පතුරම්
මෙලෙසින්න
මෙම නද අසා තෙරුවන් ගුණ
පුදවන්න
දෙව් බඹ සැම සියලු දසතින්
පැමිණෙන්න

සම්බුදු ගුණ රුවෙන් සිරි බුදු රැස්
නැගිලා
හැම සක්වලම සවණක් රැසකින්
බබලා
මෙම නද උතුම් බුදු රැස් කඳ සහ
යෙදිලා
හැම සත වෙතට යාවා ගුණයට
නැමිලා

මේ විදිහට "නොමිනිස් සැමට" "සැම ලෝ සතට" "මේ සැම දෙනගෙ නෑ හිතවත් සියලු දෙනාට"... ආදී වශයෙන් මේ මහා පූජාවට අත හිත දීගෙන සුගතිය නිවන ළඟා කරගන්න කියල ආරාධනා කරනවා. මේ විදිහට මේ බුද්ධ පූජාව අපි විතරක් නෙවෙයි දිව්‍ය, බ්‍රහ්ම, මනුස්ස, අමනුස්ස සියලු දෙනාටම තම තමන් අතින් කළ පූජාවක් සේ හිතාගෙන පූජා කරගන්න කියල අවසරයක් දෙන්න තරම් උන්වහන්සේ ලෝක සත්ත්වයාට, අපට කරුණාව දක්වන හැටි මගේ හිතේ ඇඳී ගියා. වහරක හාමුදුරුවන්ගෙ කරුණාව මේ වගේ නම්, බුදු සමිඳුගේ මහා කරුණාව මොන වගේ වෙන්න ඇත්ද කියල එදා මට මහා චිත්ත ප්‍රසාදයක් ඇති වුනා. බුදු ගුණයක් ගැන අංශු මාත්‍ර අවබෝධයකින් මගේ මුළු ජීවිතයම වෙනස් වුනා. ඇත්තටම අපි මෙතෙක් කල් බෞද්ධයො

වෙලා හිටියද කියල හිතුනා. සැබෑ බෞද්ධයෙක් වෙන්න නම් ඉදිරි ජීවිතය ගතකරන්න ඕන මෙන්න මේ විදිහටයි කියල, කිසිම කෙනෙක්ගෙ කිසිම බලපෑමක් නැතුව ධර්මය වැටහීමෙන්ම තීරණයක් ඇතිවුනා. හැබැයි මේ වැටහීම එදා ඇතිවුනා කියල දැනගත්තෙ ධර්ම මාර්ගයේ යනකොට. ඒක එදාම දැනගත්තෙ නෑ.

ඒ තීරණය ක්‍රියාත්මක කරන්න පුළුවන් මනා පරිසරයක් ඒ විහාරස්ථානයේ තිබුණා. පන්සල් හැට හැත්තෑවක් පහු කරගෙන පාන්දර 4 ට නැගිටල එතැනට ගියේ ඒ නිසා. සමහර පිරිස් අහනවා, ඇයි මේ පන්සල්වල වැඩ ඉන්නෙ බුදු හාමුදුරුවො නෙවෙයිද, මේ පන්සල්වල දේශනා කරන්නෙ බුදුබණ නෙවෙයිද, මේ පන්සල්වල වැඩ ඉන්නෙ මහා සංඝයා වහන්සේලා නෙවෙයිද කියල. නමුත් ඒ කොතැනකින්වත් අර වගේ කරුණාවක් මතුවුන, අනන්තයි කියන බුදු ගුණයේ අනන්ත බව මතුවුන, ඕනෑම ප්‍රශ්නයකට ඉතා සියුම් හේතුව පවා විග්‍රහ කෙරෙන පිළිතුරක් ලැබෙන දහමක් අහන්න ලැබුනෙ නෑ. ඉදිරියේදි අහන්න ලැබේවිද දන්නෙත් නෑ. ඒ වගේ උත්තමයන් යළි පහළ වේවා කියල අපි ප්‍රාර්ථනා කරනවා.

පින් සිද්ධ කරගන්න බුද්ධ පූජා තියනව මිසක්, ඒවායින් මොන විදිහෙ ඵල විපාක ලැබෙනවද කියල අපි දැනගෙන හිටියෙ නෑ. මේ පූජාවෙදි සියලුම පූජා ද්‍රව්‍යයන් පූජා කිරීමෙන් ලැබෙන ආනිසංස වෙන වෙනම පැහැදිලි කරනවා.

කරුණා මෙත් මහා දිය කඳ ගෙන
දුන්නා
සදහම් මහා අම රස පැන් ගෙන
දුන්නා
මුණි පිය රජවරුන් මේ දම් දිය
දුන්නා
ඒ මහ ගුණ පුදමු අද පැන්
මවමින්නා

කරුණා මෙත් මහා දිය කඳ ගෙන
එන්නේ
සදහම් අමා රස පැන් කඳ ගෙන
එන්නේ
මහ සඟ පෙළ තුළිනි මේ දම් දිය
එන්නේ
ඒ සඟ ගුණ පුදමු අද පැන්
මවමින්නේ

සදහම් අමා රස පැන් දුන්න බුදු පියාණන් වහන්සේ අග්‍ර කරගෙන ඒ අම රස පැන් ලෝකයට විද්‍යමාන කරන මහා සංඝ රත්නයේ, දහම් පානය දෙන ගුණය සිහි කරලයි පැන් පූජා කරන්නෙ. දහම් රස පැන් කිව්වෙ ඇයි? යම් කිසි දහම් න්‍යායක් දැන ගත්තම ඒ න්‍යාය ඔස්සේ ලෝකයේ තියෙන ඕනෑම දෙයක් විග්‍රහ කරන්න පුළුවන්. ලෝකය විග්‍රහ කර ගත්තම ඒකෙ අසාරත්වය දකිනවා, ලෝකයෙන් මිදෙනවා. පැන් පානයෙන් පිපාසය සංසිඳෙනවා. දහම් පානයෙන් ලෝකයට බැඳෙන කාම පිපාසය සංසිඳෙනවා. ඒ නිසයි දහම් රස පැන් කියන්නෙ. මේ විදිහට රස පැන් මව මවා පූජා කිරීමෙන් ලැබෙන පින, පුණ්‍ය ගංගාවක් කුසල ගංගාවක්. ඒ මහා පින සියලු ලෝක සත්වයන්ට යහපත පිණිස විහිදුවා පතුරුවනවා.

සැම ලෝ සතගෙ සැම දුක් ගිනි
නිවේවා
සිසිලැති පැනින් නැහැවුන ලෙස
දැනේවා
සදහම් අමා දම් රස පැන්
පෙවේවා
නිවනේ සුවය ලැබ සැම දුක්
නිවාවා

පැන් පූජා කිරීමේ ආනිසංසයෙන් සද්ධර්මය ශ්‍රවණය කරන්න අවස්ථාව සැලසෙනවා, නිවන් සුව ලැබිල සියලු දුකෙන් නිදහස් වෙන්නත් අවස්ථාව ලැබෙනවා. භෝජන පූජා කිරීමෙන් භෝජනයකින් ලැබෙන්නා වූ කාරණා පහක් ආයු, වර්ණ, සැප, බල, ප්‍රඥා වශයෙන් ලැබෙනවා. අද කාලෙ වෙන කොට සමහර ස්වාමීන් වහන්සේලාත් දැහැත් වළඳන්නෙ නෑ. ඒ වුනාට අපි දැහැත් පූජා කරනවා. දැහැත් පූජාව සමගිය සමාදානයට හේතු වන පිංකමක් කියල දැන ගත්තෙ මේ මහා බුද්ධ පූජාවට සම්බන්ධ වුනාට පස්සෙ. බුලත් කියන්නෙ බුහුමන් + ලත් කියන පද එකතුවෙන් හැදුන වචනයක්. අදටත් අපි දානයකට, පිරිතකට, බණකට ආරාධනා කරන්නෙ ස්වාමීන් වහන්සේලාට දැහැත් වට්ටියක් පිළිගන්වල. වෙද මහත්තය ළඟට, නැත්නම් නැකැත් සාස්ත්‍ර බලන ගුරුන් ළඟට අරගෙන ගියෙත් බුලත් අතක්. ඒ තමයි අපේ පැරණි සාම්ප්‍රදායික ගරු කිරීමේ පිළිවෙල. වෙනදට අපි සම්ප්‍රදායක් හැටියට කළත් අරුත දැනගෙන හිටියෙ නෑ. සැඟවුන බොදු මග කල එළි කළ අති පූජ්‍ය වහරක අභයරතනාලංකාර හිමිපාණන් වහන්සේ තමයි මේ සම්ප්‍රදායිකව කරගෙන ආපු බොහෝ දේවල්වල සැබෑ අරුත වර්තමානයේ මතු කරල දුන්නෙ.

**නළු නිළියන්, ක්‍රීඩකයන් වගේ අය පිළිගන්නෙ ලස්සන මල් කළඹක් දීල. මල් කියන්නෙ කොච්චර ලස්සන වටින මලක් වුනත් මැලවිලා පරවෙලා යන එකක්. ලෝකෙට අයිති දේකින් යම් ජයග්‍රහණයක් ලැබුව නම් ඒක තාවකාලිකයි, ඊළඟ අවුරුද්දෙ තව කෙනෙක් දිනනකල් විතරයි. මනාලියක් වුනත් එච්චරයි. පහුවදා ඉඳල පරවෙච්ච මලක් වගේ. උද්දාම වෙන්න හරයක් ඇති දෙයක් නෙවෙයි කියන අරුතිනුයි මල් දෙන්නෙ. මේ දහම් අරුත අද වෙනකොට මල් දෙන අය දන්නෙත් නෑ, මල් ලබන අය දන්නෙත් නෑ.**

දැහැත් පූජා කිරීම සමගියට හේතු වෙන්නෙ කොහොමද කියල විමසල බලමු. නාගවල්ලී දලූ ජේතං - චුන්න පූග සමායුතං... ආදී වශයෙන් දැහැත් විට්ටට අවශ්‍ය ද්‍රව්‍ය කීපයක් තියෙනවා. ඒවා අවශ්‍ය නියම ප්‍රමාණයට ගත්තමයි දැහැත් විටේ නියම රස, ගුණ, පාට එන්නෙ. මේ විදිහෙ නියම විටකින් එන රතු පාට කෙළ ටිකත් සර්ප විසට ඖෂධයක් වෙනව කියල බොහෝ දෙනෙක් දන්නෙ නෑ. (ඒ ගැන විස්තරයක් හෙළ බොදු පියුම 19 වෙනි කලාපයේ පළ කරල තියෙනවා)

සදහම් දේශනා කළ බුදුන් වහන්සේගෙ මුඛ සුගන්ධ ගුණයට ගුණ උපහාර වශයෙනුත්, ඒ ශ්‍රී සද්ධර්මය ලොවට විද්‍යමාන කරන මහා සංඝ රත්නයේ මුඛ සුගන්ධ ගුණයට ගුණ උපහාර වශයෙනුත්... දහම් දෙසීම මුඛ සුගන්ධයට හේතු වෙනව කියල පැහැදිලි කරනවා. ඒ නිසා දැහැත් පූජා කරන්නෙ මුඛ සුගන්ධ ගුණයට උපහාර වශයෙන්. බොරු, කේළම්, පරුෂ වචන, හිස් වචන කියන්නෙ ලෝකයා මුළා කරන්න, සමගිය බිඳ දමන්න, සැඩ බවට පත් කරන්න, වටිනා කාලය නාස්ති කරන්න නිසා ඒවා මුඛ දුර්ගන්ධයට හේතුවෙන දේවල්. යම් පිරිසක් අතර බොරු, කේළම් ආදිය නැත්නම් ඒ අය අතර සමගිය රැකෙනවා. දැහැත් පූජා කරන අය බණ අහනවා, පිළිපදිනවා. ඒ නිසා ඒ අය අතර සමගිය සමාදානය ඇති වෙනවා. පමණට අවශ්‍ය දේ එකතු කරල හදාගත්ත දැහැත් විට රස, සුවඳ, වර්ණය දෙනව වගේ සමගිව කටයුතු කරන පිරිස දහම් ☞



රස විඳිනවා, වර්ණවත් සුගන්ධවත් ජීවිතයක් උදාකර ගන්නවා.

තමන් වහන්සේ ළඟ තිබුන "අනුත්තරං පුඤ්ඤක්ඛෙත්තං ලෝකස්සාති" කියන සඟ ගුණය පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් වහන්සේ පැවැත්වූ මේ මහා බුද්ධ පූජාව තුළින් අපට මනාව තේරුම් ගන්න පුළුවන් වුනා. මුල ඉඳලම හොඳින් හිත යොමු කරගෙන අහගෙන හිටියොත්, මග ඵල ලබන්න හේතු වාසනා තියෙන අයට කොයි මොහොතකදි හෝ ඒ වාසනාව උදාවෙන බව පැහැදිලියි. සද්ධා ඉන්ද්‍රිය වැඩිල තියෙන පිරිසට මේ පූජාවෙ මුල් කොටස වටිනවා. වීර්ය ඉන්ද්‍රිය වැඩිල තියෙන පිරිසට මව මවා පූජා කිරීමේ කොටස වටිනවා. සති ඉන්ද්‍රිය බලවත් පිරිසට විදර්ශනාත්මකව මල් පූජා කිරීමත්, සමාධි ඉන්ද්‍රිය බලවත් පිරිසට විදර්ශනාත්මකව හඳුන්කූරු පූජා කිරීමත්, ප්‍රඥා ඉන්ද්‍රිය බලවත් පිරිසට විදර්ශනාත්මකව පහන් පූජා කිරීමත් වටිනවා.

මේ සඳහන් කළේ විශේෂයෙන් වැදගත් වෙන කොටස්. මේ හැම දෙනාටම ගැලපෙන ආකාරයටයි පූජාව පෙළගස්වල තියෙන්නෙ. ඕනෑම මොහොතක මග ඵල ලබන්න මේ මුළු පූජාවම වටිනවා. සැම ලෝ සතගෙ සැම දුක් ගිනි නිවේවා... කියන අධිෂ්ඨානයම අපේ සිත් මෛත්‍රියෙන් පුරවනවා. පැය 3 ක් හෝ 3 1/2 ක පමණ කාලයක් අඛණ්ඩව සිදු කරන පූජාවක්. අලස බවක් නැතුව ප්‍රබෝධයෙන් අහගෙන ඉන්න පිරිසට, ඒ මුළු කාලය තුළම තම තමන් විඳින විවිධාකාර දුක් පීඩාවලින් මිදිල සම්මා සමාධියක ඉඳීමෙන් ලැබෙන සුවයත් අප්‍රමාණ සහනයක්. නොනැවතී නිරායාසයෙන් කවි ගලාගෙන එන විලාසය අති දුර්ලභ ප්‍රාතිහාර්යක්. බුදු හාමුදුරුවන්ගෙන් බණ අහල අනාගාමී ඵලයට පත්වෙච්ච ද්‍රෝණ කියන බ්‍රාහ්මණතුමා හිටි හැටියෙම කවි 12,000 කින් බුදු ගුණ වර්ණනාවක් කරල තියෙනවා. ද්‍රෝණ ගර්ජනා කියල ඒ කාරණය සාසන ඉතිහාසයේ සඳහන් වෙනවා. වංගීස කියන හාමුදුරුවන්ටත් මේ අති දුර්ලභ පටිභාන කාව්‍යමය දේශනා හැකියාව තිබුන බව පොතපතේ සඳහන් වෙනවා. ගෞතම බුද්ධ සාසනයේ උන්වහන්සේ තමයි ඒ සම්බන්ධයෙන් අග තනතුර දැරුවෙ. අභයරතනාලංකාර ස්වාමීන් වහන්සේ ගිහි වතක හිටපු කාලයෙත් මේ වගේ කාව්‍යමය දේශනා කරල තියෙනවා. ඒ සමහර කාව්‍යමය දේශනා පැය 8 - 10 ක් තරම් දිගයි.

උන්වහන්සේ දම්සක් පැවතුම් සූත්‍ර දේශනාව කවි සමාධියෙන් කරගෙන යද්දි, බුදු පියාණන් වහන්සේ විසින් පස්වග මහණුන්ට පළමු දම් දෙසුම සිද්ධ කරන්න හේතුවත් ගෙතිල ඇවිත් තියෙනවා. අපි කලින් අහල නොතිබුණ ඒ කතාව මෙහෙමයි. අපේ බෝසතාණන් වහන්සේ එක්තරා අත්බැවක රජ කෙනෙක් වෙලා රට පාලනය කරද්දි, රටේ යම් ප්‍රදේශයකට යක්ෂයින් පස් දෙනෙක් ඇවිත් මිනිස්සු බයෙන් මැරිල වැටෙන්නත් ලෙඩ වෙන්නත් පටන් ගත්තා. යම් කිසි පිරිසක් මේ බව රජතුමාට දන්වා සිටියා. රජතුමා බොහොම ධාර්මිකයි. රට වැසියන්ට සිද්ධ වෙලා තියෙන විපත දැනගත්ත වහාම යක්ෂයින් තමන් ළඟට එන ලෙස අධිෂ්ඨාන කළා. ඒ අධිෂ්ඨාන බලයෙන් තමන් ළඟට ආව යක්ෂයින්ගෙන්, මගේ රට වැසියන්ට දුක් පීඩා කරන්නෙ ඇයි කියල ඇහුවා.

වෙව්ලන යකුන් යහපත්
ලෙස පවසනවා
සමිඳුනි අභය දානය
අප වෙත දෙනවා
දුක් නැත දුන්නෙ සත වෙත
අපි පවසනවා
අපි දුටු හැටියෙ සත නිකමම
බිය වෙනවා

අපි කළ දෙයක් නොම වෙයි
සමිඳුනි මේක
අපි දුටු හැටියෙ බය වෙයි හැම
සත නේක
මැරුණට පසුව ගොස් බලමින්
එම දාක
මියගිය මිනියෙ ලේ උරනව
සැම ඒක

දරුවෙනි තොපට මම අද
මෙය පවසනවා
මගෙ මේ ලේ නහර නුඹලට
ගෙන දෙනවා
කිසිවෙකු වෙතට දුක් නොම දී
ගෙන බොනවා
ජීවයෙ රුධිර ධාතුව
නුඹලට දෙනවා

ඇවිදින් බීපියව් තොපහට
දුක නැත්තේ
අදිටන් කරමි යහපතටම
බල ඇත්තේ
දෙකකුල් දවා උණු ලේ
පානය ත්තේ
යකුනගෙ බඩේ ඉතිරිය නැත
පිරි ඇත්තේ

ඔබ වැනි උතුම් කෙනෙකුගෙ
මෙම ලෙයින් ගෙන
පානය කරපු අප වෙත
මෙම තැනින් වන
සාපය ඇත්ද සමිඳුනි
අද එවන් තැන
කෝපය නැතිව මෙය
පවසනු සියල් වන

දරුවනි කිසිම තැන නැත දුක
ඇති වන්නේ
බුදු බව පතාමයි මෙම ලෙය
ගෙන දුන්නේ
නුඹලා කිසිම තැන බයකුත්
නොම වන්නේ
සපිරී බඩ කටින් ඇත ඔබ
පිට වන්නේ

උතුම් මහ රජුනේ
අද පිපාසය නිවුනේ
බුදු බව ලැබ ගෙනේ
පළමු දෙසුමන් දෙසනු කිව්නේ

මේ විදිහට බෝසතාණන් වහන්සේ කෙරෙහි සිත පහදවා ගත් යක්ෂයින්, ඒ යක්ෂයින් බවට පත් වූ කර්ම විපාකය ගෙවිල සුගතිගාමීව තමන්ගෙ යහපත් ප්‍රාර්ථනාව අනුව පළමු දම් දෙසුම අහන්න අවශ්‍ය සුදුසුකම් සම්පූර්ණ වෙලා ඒ වෙනකොට පස්වග මහණුන් බවට පත්වෙලා හිටියා. එදා ඒ යක්ෂයින් පස් දෙනාට දුන්න පොරොන්දුවේ හේතු ඵලය තමයි, ඒ රජතුමා බුදුවන අත්බැවේදි පස්වග තවුසන්ට පළමු දම් දෙසුම පැවැත්වීම. අභයරතනාලංකාර හිමියන් විසින් පවත්වපු තවත් ඉතා අගනා කාව්‍යමය දේශනා තිබුනත් මේ සඳහන් කරන්නෙ සිහිපත් කිරීමක් විතරයි.

මීට පෙර අපි අහල නොතිබුන අති උත්තම බුද්ධ පූජා පෙරහර මාලාවක් වහරක අරිය චින්තාශ්‍රම පූජා භූමිය මුල් කරගෙන සිද්ධ කරනු ලැබුවා. මේවා සිද්ධ කරන්න කියල උන්වහන්සේ අණ පනවල සිද්ධ කළා නෙවෙයි. මේ ධර්ම මාර්ගයේ යන පිරිසට පහළ වෙන පින් සිතිවිලි වඩාත් ඵලදායී වෙන විදිහට, බොහෝ දෙනෙකුට යහපත සිද්ධ වෙන විදිහට කරන්න පුළුවන් ආකාරය පෙන්වා දීල අනුසාසනා කළාම, ඒ සිතිවිලි නැගුන පිරිස තමයි පෙරහර සංවිධානය කළේ.

ස්වයංජාත රත් ඇල් කියල බුදු පියාණන් වහන්සේ වැඩ හිටිය කාලයේ තිබිච්ච දුර්ලභ, පෝෂ්‍යදායී සහල් විශේෂයකට සමාන සහල් විශේෂයක් ඒ දවස්වල නැවත මතුවෙලා තිබුණා. එක උපාසක මහත්මයෙකුට මේ සහල්වලින් බුද්ධ පූජාවක් කරන්න අදහසක් පහළ වුනා. එතැනදි වහරක අභයරතනාලංකාර ස්වාමීන් වහන්සේ ඒ පූජාව දිව්‍ය, බ්‍රහ්ම, මනුස්ස, අමනුස්ස හැම දෙනාටම අත හිත දීගෙන, සුගතිය නිවන ළඟා කරගන්න ඒ අයටත් මග සැලසෙන අති උත්තම කිරිපිඬු පූජාවක් විදිහට සකස් කරන ආකාරය පෙන්වා දුන්නා. මේ පිළිබඳව පූර්ණ විස්තරයක් සම්මා සමාධි අත්වැල් භාවනා පොතේ ඇතුලත් වෙනවා.

මේ පූජාව පිළිබඳව මොන තරම් ප්‍රසාදයක් ඒ පිරිසට ඇති වුනාද කිව්වොත්, ඒ පෝයදා පටන් මේ දක්වා හැම පෝය දිනකම පාහේ විවිධ සහල් වර්ග යොදාගෙන ඒ දිය නොමුසු කිරිපිඬු පූජාව සිද්ධ කරනවා. ඊට පස්සෙ සමන් මල් ලක්ෂයක් පූජා කරන්න ඒ අයට හිතුනා. ඒකත් අර වගේම බොහෝ දෙනාගෙ යහපත පිණිස සිද්ධ වෙන විදිහ දැනගෙන කළා. මේ චිත්ත ප්‍රසාදය මොන තරම් විහිදිලා ගියාද කිව්වොත්, ඒ අවුරුද්ද පුරා හැම පෝය දවසකම විශේෂ පූජා පෙරහැරක් සිද්ධ කළා. හඳුන්කූරු ලක්ෂයක්, පහන් ලක්ෂයක්, කොඩි ලක්ෂයක්, උඩු වියන් ලක්ෂයක්, සේසත් ලක්ෂයක්, කප්රුක් 100 ක් සමග චෛත්‍ය, පාවාඩ, වටතිර ලක්ෂයක් ආදී වශයෙන් මහා පූජාවන් සිද්ධ කළා. මේ පූජා පිළිබඳ විස්තර සම්මා සමාධි අත්වැල් භාවනා පොතේ ඇතුලත් වෙනවා.

මහා ප්‍රාතිහාර්යයක් විදිහට එදා මට පෙනුන එක සිද්ධියක් විතරක් මේ විදිහට සඳහන් කරන්න කැමතියි. සය වර්ණ කොඩියේ මාන්ජෝෂ්‍ය, ප්‍රභාෂ්වර කියන වර්ණ දෙක අපි හරි විදිහට ඒ වෙනකොට දැනගෙන හිටියෙ නෑ. මාන්ජෝෂ්‍ය කියන්නෙ මනසින් උසස්. මනස උසස් වෙන්නෙ කාමරාග පටිඝ සහමුලින්ම දුරු වුනාම. පටිඝයක්, ගැටීමක් නැත්නම් "රණ" නෑ, අරණ වෙනවා. **රණ කියන්නෙ යුධ පිටිය, අරණ කියන්නෙ යුද්ධයක් නෑ. තමන්ගෙ හිත, ස්ව + අරණ වුනාම ස්වර්ණ වර්ණයි. හිත නිදහස්. ප්‍රභා + අස් + වර - ප්‍රභාෂ්වර කියන්නෙ, නැවත නැවත භවයේ සැරිසරමින් භවය ඇසුරු කිරීම වරනවා, අතහරිනවා. ඒ කියන්නෙ රහතන් වහන්සේගෙ ගුණය. වර්ණ තියෙන්නෙ ලෝකයේ. ලෝකයෙන් එතෙර වුනාම වර්ණ නෑ, අවර්ණයි, විනිවිඳ පේනවා.** අපි එදා කොඩි හැදුවෙ නිල්, කහ, රතු, සුදු, ස්වර්ණ වර්ණ සහ විනිවිඳ පේන අවර්ණ යොදාගෙන. මේ කොඩි ලක්ෂයේ පූජාවෙදි බුදු පියාණන් වහන්සේගෙ සය වර්ණ රශ්මි ධාරාව තමයි කොඩියට යෙදුවෙ. අභයරතනාලංකාර හිමියන් ඒ රැස් දහර එකින් එක කාව්‍යමය දේශනාව තුළින් විස්තර කළා. ළය නිවුන ගතිය හේතුවෙන් හටගත් නීල වර්ණය පිළිබඳවයි මේ කවි සටහන.

මුළු කය සෙත දෙන ගුණ මග පිහිටන
නිවුණු ළයේ වරුණය ඒවා
සැම තැන වටකර නිවි නිවි සැනසෙන
දහම් සුවෙන් වටකර ඒවා

උඩ යට වට සැම නිවුණු ළයේ ඇති
වරුණ ගුණේ වට විහිදේවා
නීල වරුණ බුදු රැස් කඳ ඇදි ඇදි
සැමගෙ කයේ වට පිහිටාවා

උඩද යටද වට නීල වරුණ පැති
මුණිඳු ගුණෙන් ඇදි ඇදි ඒවා
අනත මෙ සක්වළ විහිදමු ඒ ගුණ නීල
වරුණ රැස් ඇදි ඒවා
සැමගෙ කයේ වට නීල සුවඳ ගෙන
නීල වරුණ රැස් පිහිටාවා
නිවුණු ළයේ සුව, දැවුම් සිසිල් කර
දසත විහිදි සෙත නගවාවා

සැමට උතුම් බුදු සාම සුවය දෙන
නීල වරුණ රැස් නැගි ඒවා
අවට දෙදහ දස දහසක් සක්වළ නීල
වරුණ රැස් විහිදේවා
මුනිඳු දෙසූ දම් සුවය ලබන්නට පාප
දුගඳ නැති සෙත වූවා
සැමගෙ ගතේ සැම නීල වරුණ ගුණ
විහිදි විහිදි රැස් සැකසේවා

මේ අවස්ථාවෙදි නීල වර්ණය ප්‍රදේශය පුරා විහිදිලා පැතිරිලා, පෙරහරට සුදු වස්ත්‍ර ඇඳගෙන හිටපු පිරිසගෙ වස්ත්‍ර ළා නිල් පාටක් ගත්ත හැටි අපි දැක්කා. ඒ වගේම ගහ කොළට උඩින් නිල් පාට පැතිරිලා තියෙන ආශ්චර්ය කැමරා සටහන් මගින් සජීවීවත් දැක්කා. සාමාන්‍ය කෙනෙකුට මේවා හිතාගන්න බැරි වෙන්න පුළුවන්. නමුත් සත්‍යය තර්කයට ගෝචර නෑ. පටිභාන කාව්‍ය පෙළහර පිළිබඳව තවත් බොහෝ දේවල් ලියන්න පුළුවන් වුනත්, බොහෝ දේවල් අපි දැනටමත් පොත්වල ලියල තියෙනවා. විද්‍යුත් මාධ්‍ය ඔස්සේ විකාශනය කරල තියෙනවා. ඒ ධීරයන් වහන්සේ පිරිනිවන් පෑවත්, උන්වහන්සේ නැවත මතු කරල දුන්න සද් දහම පමණක් නෙවෙයි, ලෝකයාගේ යහපත පිණිස යෙදවූ සියලු ශිල්ප සාස්ත්‍රත් දේශනා කරල තියෙනවා. උන්වහන්සේ පෙන්වා වදාළ දහම් මග ඉදිරියටත් අනුගමනය කිරීමතුළින් අපි උන්වහන්සේට ගෞරවය පුද කරමු.

**ඩබ්. ඒ. තිළිණාවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**
**0112901508**

අභයරතනාලංකාරය - 66

# සැඟවී ගිය බොදු මග යළි මතු කළ යතිවරයාණෝ සමු ගනිති.



- වහරක අභයරතනාලංකාර හිමි

ලෝකයේ හොඳ දේවල් පවතින්නෙ බොහොම කෙටි කාලයයි. විශේෂයෙන් බුදු සසුන වගේ ලෝකෝත්තර පැත්තෙන් උත්තරීතර දෙයක් පවතින්නෙ ඉතාම කෙටි කාලයයි. උපමාවකින් කියනව නම්, අපි මෙතෙක් කල් ආපු අනන්ත සසර ගමනත් එක්ක සසඳන කොට ඇහිපිල්ලක් ගහන තරම් ඉතාම කෙටි කාලයයි. මනුස්සයෙක් තමන්ගෙ ජීවිත කාලය තුළ කොච්චර නම් වාරයක් ඇහිපිය ගහනවද ? අන්න ඒ වාර ගණනින් එක ඇහිපිල්ලක් ගහන වාරයක් තරම් ඉතාම සුළු කෙටි කාලයක් තමයි මේ සම්බුද්ධ සාසනයක් විද්‍යමාන වෙලා පවතින්නෙ. ඒ ඇහිපිය ගහන වාරය හැර ඉතිරි කාලය සියල්ලම බුදු සසුනක් නැති කාලයක් හා සමානයි. මේ කිව්වෙ උපමාවක්. ඒකෙන් හිතාගන්න පුළුවන් ඒ කාරණය කොච්චර දුර්ලභද කියල.

මේ වගේ බුද්ධ සාසනයක පහළ වෙන ආර්ය උත්තමයොත් බොහොම අඩුයි. ඒ කියන්නෙ සියලු ලෝක සත්ත්වයන් එක්ක සසඳද්දි මේ දහම් අවබෝධ කරන පිරිස මහ පොළොවෙන් නිය පිටට ගත් පස් පිඬක් තරම්. මුළු මහත් මනුස්ස සංහතිය සමග සැසඳුවත් ඒ පිරිස ඉතා අල්පයි. දහම් අවබෝධ නොකරන පිරිස මහ පොළොවේ ඉතිරි පස් ප්‍රමාණය හා සමානයි. එතකොට ඒ කාරණයත් දුර්ලභයි. ඊළඟට ඒ පහළ වන ආර්ය උත්තමයන් අතරින් දේශනා ප්‍රාතිහාර්ය තියෙන උත්තමයො තවත් දුර්ලභයි. බුදුන් වහන්සේ ජීවමානව වැඩ හිටපු කාලය ගත්තත්, රහතන් වහන්සේලා දස දහස් ගණනින් ලක්ෂ ගණනින් හිටියට විශේෂ දේශනා ප්‍රාතිහාර්ය තියෙන රහතන් වහන්සේලා හිටියෙ ඉතා අඩු ගණනක්.

ගෞතම බුදුන් වහන්සේ කියන්නෙ ප්‍රඥා අධික බුදුවරයෙක්. උන්වහන්සේගෙ ආයු කාලයත් අවුරුදු 80 ක් තරම් අඩු කාලයක් වුනා. ඒ නිසා ඒ සාසනයේම වරින්වර පහළ වෙච්ච ආර්ය උත්තමයන් වහන්සේලා විසින් ඒ දහම සැඟවිලා යට ගිය කාල වකවානුවල, සසර පැතුමන් අනුව ඇවිත් නැවතත් බුදු සසුන නගා හිටවල බබළවන්න කටයුතු කළා. බුද්ධ පරිනිර්වාණයෙන් අවුරුදු දෙතුන් සියයකට පමණ පසු පහළ වූ මහා මොග්ගලීපුත්තතිස්ස සිවුපිළිසිඹියාපත් මහ රහතන් වහන්සේත්, එයින් අවුරුදු 1000-1500 කට පමණ පසු පහළ වූ මලියදේව මහරහතන් වහන්සේත් මේ ගෞතම බුද්ධ සාසනය පිරිහිලා යන කාල වකවානුවල නැවත නගා හිටවපු මහා උත්තමයන් වහන්සේලා දෙනමක්. උන්වහන්සේලාගේ ජීවමාන කාලය කෙටි වුනාට කරපු මහා මෙහෙය සුළුපටු නෑ, අති විසාලයි. හේතු වාසනා තිබ්බ්ච මහා විසාල පිරිසකට නිවන් මාර්ගය පෙන්වා දුන්නා. අන්තිමට මලියදේව මහ රහතන් වහන්සේගෙන් බණ අහල රහතන් වහන්සේලා දහස් ගණන් බිහි වුනා. ඒත් සසර ගමන කෙළවර කර නොගත්, මූලික අවබෝධය ලබපු සෝතාපන්න ආර්ය ශ්‍රාවකයින් නිසා කළණ වැට බිඳුනෙ නෑ. ඒ වගේ **සමහර ආර්ය ශ්‍රාවකයින් ජාත සෝතාපන්නයින් විදිහට නැවතත් මනු ලොව ඉපදිලා තමන්ගෙ හැකියාවන්ගෙන් සාසන සේවයත් ඉටු කරල සසර ගමන කෙළවර කරගන්න කටයුතු කරනවා.**

ඒ විදිහට ඒ කළණ වැටේ එල්ලිලා සසර පැතුමක් අනුව, මේ බුදු සසුන පිරිහිලා යන කාල වකවානුවක යළි නගා සිටුවන්න ආපු තවත් උත්තමයෙක් තමයි වහරක අභයරතනාලංකාර හාමුදුරුවො කියන්නෙ. උන්වහන්සේගේ ඒ පැතුම ගැනත්, ඒ සඳහා බුදු පියාණන් වහන්සේලාගෙන් ලැබුන ශ්‍රාවක විවරණ ගැනත් මීට පෙර අභයරතනාලංකාරය තුළින් හෙළිදරව් කරල තියෙනවා. උන්වහන්සේගේ මේ ජීවිත කාලය ගත්තොත් අවුරුදු 67 යි. එයින් පැවිදි දිවියෙ හිටියෙ අවුරුදු 12 යි. ඉතාම කෙටි කාලයයි. හැබැයි ඒ කෙටි කාලය තුල උන්වහන්සේ කරපු මහා සාසනික මෙහෙවර අති විසාලයි, අති ශ්‍රේෂ්ඨයි.

ගිහි වතක හිටියත් වයස අවුරුදු 18 - 55 දක්වාම උන්වහන්සේ තමන්ගෙ අධ්‍යාත්මික ශක්තියෙන් ලෝක සත්ත්වයාට නිවන් මාර්ගය ඇතුළු ඊට උපනිශ්‍රය වන බොහොමයක් දේ පෙන්වා දුන්නා. ඒත් මිනිස්සු අතරට ඒ දහම ගියේ බොහොම හෙමින්. ඒ සම්බන්ධයෙන් දැනුවත් වෙච්ච පිරිස අඩුයි. මේ වගේ දහමක් මතු වීම කොහොමත් අතිදුර්ලභ කාරණයක් නිසාත්, ඒ සඳහා හේතු වාසනාවන්තයින් බොහොම අඩු නිසාත්, ඒක එහෙම වුනා වෙන්න පුළුවන්. ඒ වගේම ඉතිං සිවුරු දරාගෙන සාසනික කටයුතු කරනවට වඩා ගිහි වතක ඉඳගෙන ඒ කටයුතු කරනකොට එන පිළිගැනීමත්, දහම් ව්‍යාප්තියත් සාපේක්ෂව අඩු වගේම ඒවට එන බාධකත් වැඩියි. උන්වහන්සේ කුඩා කාලයේම මහණ වෙන්න බලාපොරොත්තුව තිබුනත්, ඒ අවස්ථාවේ තිබ්බ්ච පරිසරය නොගැලපෙන බව හැඟී ගිය නිසාත්, තිබ්බ්ච සසර ගනුදෙනු නිසාත්, කර්මානුරූපීව ඒ කාරණය කල් පමා වෙලා වයස අවුරුදු 55 දි තමයි පැවිදි වෙන්න අවස්ථාව ලැබුනෙ. ඉන්පසු ගත වූ අවුරුදු 12 ඉතාමත් සීඝ්‍රයෙන් මේ දහම හේතු වාසනා තියෙන පින්වතුන් අතරට ගෙනියන්න ☞

උන්වහන්සේට හැකියාව ලැබුනා. විශේෂයෙන් රැකියාවත් කරගෙන ගිහි වතක ඉඳෙද්දි ලබපු දුක් කරදර සහිත අත්දැකීම් සමූහයත් ඒ සඳහා මහා පිටිවහලක් වුනා.

හැබැයි ඉතිං ඒ අවුරුදු 12 ගත්තත්, අන්තිම අවුරුදු 2 - 3 ක කාලය උන්වහන්සේට කර්මානුරූපීව ආපු දරුණු අසනීප තත්ත්වයන්ට මුහුණ දෙන්න සිද්ධ වෙච්ච නිසා, මේ බණ අහන්න අළුතින් ආපු බොහොමයක් පින්වතුන්ට සජීවීව ඒ හඬ වෙනද වගේ අහන්න අවස්ථාවක් ලැබුනෙ නෑ. ඒත් උන්වහන්සේ ඒ අය ගැන අනුකම්පාවෙන් උත්සාහය අත්හැරියෙත් නෑ. පුළුවන් හැම වෙලාවකම ඒ දහම් කරුණු ලබාදෙන්න ක්‍රියා කළා. දරාගන්න බැරි තරම් ශාරීරික පීඩනයක් ඇතිවෙච්ච අවස්ථාවක හැර, අනෙක් සියළුම අවස්ථාවල ඒ දුක් කරදරත් දරාගෙන බණ පදයක් කියන්න, අහන ප්‍රශ්නයකට උත්තර දෙන්න තරම් උන්වහන්සේ කාරුණික වුනා.

සමස්ථයක් වශයෙන් ගත්තම, පහුගිය අවුරුදු 7 - 8 ක කාලයක ඉඳල තමයි උන්වහන්සේ වරින් වර අසනීප වෙන්න පටන් ගත්තෙ. ඒ මුල් කාලවලත් මාරාන්තික වෙච්ච සමහර අවස්ථා තිබුනා. ඒත් ඒ හැම එකකින්ම උන්වහන්සේගෙ ජීවිතය පුදුම විදිහට බේරුනා. නමුත් අවසාන කාලවල ආපු රෝගී තත්ත්වයන් බොහොම දරුණුයි. කායික ආබාධවලට අමතරව ගුප්ත ලෝකයෙන් ආපු මාර පාක්ෂික බලවේග පවා උන්වහන්සේට දරුණු විදිහට කරදර කරන්න පටන් ගත්තා. හැබැයි උන්වහන්සේ ඒ සියල්ලම තමන් වහන්සේට කර්මානුරූපීව එන කර්ම විපාකත් මුල් වෙලා සිද්ධ වෙන බව දැනගෙන හිටියා. ඒ සඳහා හේතු වෙච්ච සමහර අතීත කාරණා පවා උන්වහන්සේට දැනගන්න පුළුවන්කම තිබුනා. එහෙම දැනගත්ත විතරක් නෙවෙයි, ඒවා අපිත් එක්ක කියන්න තරම් උන්වහන්සේ නිහතමානී වුනා. තමන්ගෙ කයට ආපු දුක් විපාක කිසිම දෙයක් උන්වහන්සේ හැංගුවෙ නෑ. ඒ විපාකවල ස්වභාවයන් විතරක් නෙවෙයි, ඒ සමහර ඒවාට හේතු වෙච්ච කාරණා පවා උන්වහන්සේ හෙළිදරව් කළා. හිසේ සිට දෙපතුල දක්වා කයට ආපු දුක් විපාක උන්වහන්සේ එකක් නෑර හෙළිදරව් කළා. මේ සංසාරයේ තියෙන අති භයානකත්වය පෙන්වන්න තමයි උන්වහන්සේ ඒ විදිහට ක්‍රියා කළේ. ඒ වගේම ගුප්ත ලෝකයෙන් ආපු කායික වේදනා වගේම මානසික වද වේදනා සාමාන්‍ය කෙනෙකුට නම් දරාගන්න බැරි තරම්. ඒවා කොච්චර දරුණුද කිව්වොත් කෙනෙක් එක පාරටම පිළිගන්න එකක්වත් නෑ. ඒ තොරතුරුත් ඉදිරියෙදි හෙළිදරව් කරන්න බලාපොරොත්තු වෙනවා.

ඉතිං මෙවර උන්වහන්සේගෙ අසනීප තත්ත්වය තරමක් උග්‍ර වෙලා රෝහලට ඇතුලත් කරල මාස දෙකක පමණ කාලයක් නේවාසිකව ප්‍රතිකාර ගත්තා. අවසාන කාලයේ ශරීරය එන්න එන්නම දුර්වල වුනා. සමහර වාර්තාවලට අනුව 5% කට වඩා උන්වහන්සේගෙ ශරීර ක්‍රියාකාරීත්වය තිබුනෙ නෑ. නමුත් අර තිබ්ච්ච පාරමිතා ශක්තිය නිසා එච්චර කාලයකට ජීවිත හානියක් වුනේ නෑ. වෙන කෙනෙක් නම් පැත්ත වැටිල.

හැබැයි කායිකත්වය එහෙම වුනත්, උන්වහන්සේගෙ මානසික ශක්තිය උපරිමව තිබුනා. ඕනම ගැඹුරු දහම් කරුණකට නිවැරදිව උත්තර දෙන්න තරම් ඒ ශක්තිය බලවත් වුනා. ඒත් අවසාන කාලයේ උන්වහන්සේ කායිකව විඳපු දුක නම් මහා ප්‍රබලයි. ඒ කාරණය හංගන්න දෙයක් නෑ. උන්වහන්සේ හැංගුවෙත් නෑ. එහෙම හංගන දේවල් උන්වහන්සේ ළඟ තිබුනෙ නෑ. අවසාන සති දෙකක පමණ කාලයේ කතා කරගන්නත් බැරි වුනා. වචන පවා අපැහැදිලි වුනා. කටට දාන දානෙ පිඬත් ගිලගන්න බැරි වුනා. පැන් ටිකක් පානය කළත් උගුරෙන් පහලට ගියේ නෑ. ශරීර කෘත්‍ය කරන්න පවා උස්සගෙන යන්න සිද්ධ වුනා. කෙනෙකුට හිතෙන්න පුළුවන්, මේ සා විසාල දහමක් මතු කරපු ශ්‍රාවක විවරණ ලබපු උත්තමයෙකුට එහෙම වෙන්න පුළුවන්ද කියල. වෙන්න පුළුවන්. ඒ ගැන කතා දෙකක් නෑ. ඒ තමයි සසර විපාක එන හැටි. පශ්චිම අත්බවය නම් කොහොමටත් අනිවාර්යෙන්ම පල දෙන්න තියෙන විපාක ඇදිල එනවා. **බුදු වුනත් කයට එන දුක් කරදර නැතිවෙන්නෙ නෑ. බුදුන් වහන්සේටත් පෙර අකුසල් 12 ක් පල දුන්න කියල ධර්මයේ සඳහන් වෙනවා. පෙර වැඩ හිටපු මහ රහතන් වහන්සේලා ඇතුළු ආර්ය උත්තමයන් ගත්තත්, විපාක කයේ දුක් විඳල සසර කෙළවර කරපු උත්තමයො ඕන තරම් හිටියා.**

කොහොම හරි අවසාන සතියක පමණ කාලයක පටන් උන්වහන්සේ දැඩි සත්කාර ඒකකයේ ප්‍රතිකාර ලබල අවසානයේ සසර ගමන කෙළවර කරගන්න තැනට කටයුතු කරල අපෙන් සමු ගත්තා. දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, එහෙම කියන්නෙ කොහොමද කියල. ඒ සම්බන්ධයෙන් උන්වහන්සේ මීට පෙර අවස්ථා කිහිපයකදිම ලබා දුන්න ඉඟි කිහිපයක් තිබුනා. මීට අවුරුදු කිහිපයක පටන්ම උන්වහන්සේ ඒ කාරණය ප්‍රසිද්ධියේ නැතත් පෞද්ගලික මට්ටමින් ප්‍රකාශ කරපු අවස්ථා තිබුනා. තමන් වහන්සේට දැන් ආයාසයෙන් කරන්න කොටසක් නැති බවත්, නිරායාසයෙන්ම යම් දවසක මේ කටයුත්ත අහවර වෙන බවත් ප්‍රකාශ කළා. ඒ කියන්නෙ අරිහත් ඵලය පූර්ණ කර ගන්න මුලින් ආයාසයෙන්ම කරන්න ඕන බණ භාවනා කොටස කරල හමාරයි. ධර්මානුකූලව නිරායාසයෙන්ම ඉතිරි ටික වෙනකල් බලාගෙන ඉන්න තිබුනෙ. ඒ කියන්නෙ නිකම්ම බලාගෙන ඉන්නව කියන එක නෙවෙයි, ආයාසයකින් තොරව අනිච්ච, දුක්ඛ, අනත්ත සිහි කරගෙන ඉන්න තිබුනෙ.

ඒ වගේම උන්වහන්සේ කිව්ව කාරණයක් තමයි, යම් විදිහකින් මේ කය බිඳෙන්න පෙර අරිහත් ඵලය පූර්ණ කරගන්න බැරි වුනොත් නැවත උප්පත්තියකට නොයන බව. **"උප්පත්ති පටිලාභය ඉවරයි, භව පටිලාභය විතරයි තියෙන්නෙ. රූප රාග, අරූප රාග කොටස් දෙකත් ප්‍රහීණයි. අස්මි මානයත් එක්ක උද්දච්ච අවිද්‍යා ශේෂ මාත්‍රයක් විතරයි දැන් තියෙන්නෙ. එතකොට කය බිඳුනත් අනාගාමී උත්තමයන් යන පංච සුද්ධාවාස බඹ ලොව උපදින්නෙත් නෑ. අපවත් වෙන මොහොතෙදි හෝ උප්පත්ති පටිලාභයක් නැති නිසා අන්තරා පරිනිබ්බායී අවස්ථාවෙදි හෝ අරිහත් ඵලය පූර්ණ කරගෙන පිරිනිවන් පානවා."** මේ කාරණය උන්වහන්සේ කිහිප අවස්ථාවකදිම ප්‍රකාශ කරල තියෙනවා. මේ කියන අන්තරා පරිනිබ්බායී අවස්ථාවෙ ඉන්න තුන් දෙනෙක් ගැන මීට පෙර මේ සඟරාවෙ 37 කලාපයේ පූර්ණ විස්තරයක් ඉදිරිපත් කරල තියෙනවා.

එතකොට උන්වහන්සේට එහෙම කියන්න හැකියාව ලැබුනෙ ප්‍රත්‍යවේක්ෂා ඥාන තිබ්ච්ච නිසා. ඒ කියන්නෙ තමන් වහන්සේ ඉන්න තැනත්, ප්‍රහීණ කරපු සංයෝජන කොටසත්, ☞

ඉතිරි සංයෝජන කොටසත්, තවත් මොනවද කළ යුත්තෙ කියන කාරණයත් උන්වහන්සේ හොඳින් දැනගෙන හිටියා. දස සංයෝජන ධර්මවලින් 7 ක් පූර්ණ වශයෙන්ම බිඳිල තියෙන බවත්, ඉතිරි තුනෙත් ශේෂ මාත්‍රයක් විතරක් තියෙන බවත් මීට අවුරුදු කිහිපයකට පෙරත් ප්‍රකාශ කළා. එහෙම දැනගන්න පුළුවන් විශේෂ ඥාන කොටසක් උන්වහන්සේට තිබුනා.

ඒ විදිහට සිද්ධ වෙන අන්තරා පරිනිබ්බායී අවස්ථාව ගැනත් උන්වහන්සේට හොඳ අවබෝධයක් තිබුනා. මීට වසර 8 කට පමණ පෙර අලව්ව ප්‍රදේශයේ සෙනසුනක වැඩ හිටපු හිමි නමක් අන්තරා පරිනිබ්බායී අවස්ථාවෙදිම රහත් ඵලය පූර්ණ කරල පිරිනිවන් පෑ අවස්ථාවක් උන්වහන්සේ සමාධියෙන් යොමු කරල බලල ප්‍රකාශ කළා. ඒ උත්තමයගෙ සසර ගමන් මාර්ගයේ විස්තරයකුත් සමාධියට යොමු වෙලා ප්‍රකාශ කළා. මේ පිළිබඳ කෙටි විස්තරයක් හෙළ බොදු පියුම 30 කලාපයේ "නූතන විද්‍යාවට වැරදුනු ජීවයේ සම්භවය හා පරිනාමය දහම් ඇසින්" ලිපිය තුළින් පළ කරල තියෙනවා. හැබැයි උන්වහන්සේ ඒ කාරණය ප්‍රකාශ කළේ ඵල සිත දැකල නෙවෙයි. මොකද තව කෙනෙක්ගෙ මාර්ග ඵල සිතක් කියන්න පුළුවන් ලොව්තුරා බුදුන් වහන්සේ නමකට විතරයි. නමුත් ඒ ආර්ය උත්තමයා ඊට පෙර අත්බැවක බණ අහල කරපු ප්‍රකාශත්, මේ අත්බවයේ කය අතහරින්න පෙර තමන්ගෙ ශිෂ්‍ය භික්ෂූන් වහන්සේලාට කරපු ප්‍රකාශත්, කය අතහැරි මොහොතේ සිදු වූ දර්ශනත්, ආදාහනයෙන් පසු ශරීර කොටස්වල ස්වභාවය ආදියත් නාම ගෝත්‍ර හරහා දැකල තමන්ගෙ ඥානවලින් තමයි ඒ කාරණය ප්‍රකාශ කළේ.

උන්වහන්සේ අන්තිම මොහොතෙ තමන්ගෙ ශිෂ්‍ය භික්ෂූන් වහන්සේලාට කියල තිබුනෙ, මම නම් මගේ වැඩේ කරගත්තා, නුඹලත් නොපමාව තමන්ගෙ වැඩේ කරගනිල්ල කියල. නමුත් උන්වහන්සේ අසනීපයෙන් හිටපු නිසා ඒ ශිෂ්‍ය භික්ෂූන් වහන්සේලා හිතුවෙ මොනව හරි සිහි කල්පනාව අඩු වෙලා කියවනව ඇති කියල. නමුත් උන්වහන්සේ සසර ගමන කෙළවර කරගෙන අනිත් අයටත් අවවාදයක් දීල තියෙන බව කියමින් වහරක අභයරතනාලංකාර හාමුදුරුවෝ ඒ කාරණයේ දහම් අර්ථය පැහැදිලි කළා.

ඒ වගේම මේ කයේ ස්වභාවයත්, අවසානයත් ගැන උන්වහන්සේ මීට මාස 10 කට පමණ පෙර හෙළිදරව් කළේ මේ විදිහට. "මගේ වයස දැන් අවුරුදු 66 ක්. 66 ක් කියන්නෙ සාමාන්‍යයෙන් නිරෝගී මනුස්සයෙකුට වයසක් නෙවෙයි. හොඳට තමන්ගෙ වැඩ කටයුතු ටික කරගෙන ඉන්න පුළුවන් වයසක්. නමුත් මේ කාලෙ වෙනකොට මට තියෙන්නෙ අවුරුදු 85 - 90 ක් වයස පුද්ගලයෙක්ගෙ කායිකත්වයක්. මට දැන් ඇවිද ගන්න බෑ. ඇප උපස්ථානයට කවුරුහරි ළඟින් ඉන්න ඕන. නැගිටල වැසිකිළියට යනවට වඩා දෙයක් කරගන්න බෑ. හදිස්සියේ එහා පැත්තට ගිහින් එන්න කිව්වොත් යන්න බෑ. අවුරුදු 90 ක මනුස්සයෙක්ගෙ සොබාවයක් තමයි මේ. මම කායික වශයෙන් හොඳටම වැටිල ඉන්නෙ. අසනීප ලෙඩ රෝග ඉවරයක් නෑ. නමුත් බලනකොට මේකෙ ඇති දේකුත් නෑ. කියන්න දේකුත් නෑ. නොකිය හංගගෙන ඉන්න දේකුත් නෑ. ලෙඩක් කියල හරියට වෛද්‍යවරුන්ට අහුවෙන්නෙත් නෑ. නමුත් විඳවනවා. ඒවට කර්ම විපාක සම්බන්ධයකුත් තියෙනවා. ඒවායින් නිදහස් වෙන්න ක්‍රමයකුත් නෑ. ඒ අවස්ථාව වෙනකොට තමයි මියගිය ඥාති කොටස් සම්බන්ධ වෙලා මට කරදර කරන්න පටන් ගත්තෙ. ඒක ඊට හපන්. උන් මගේ ළඟ ලැග ගත්ත ගමන් මාව අතහරින්නෙම නෑ. එල්ලිච්ච ගමන් දිය කුඩැල්ලො වගේ. ඒ කරුමෙන් බේරෙන්න බෑ. ඒවට කිසිම බේතක් අහන්නෙත් නෑ. තවමත් විඳවනවා. කියන්න කෙනෙකුත් නෑ. කිව්වට කෙනෙකුට ගෝචර වෙන්නෙත් නෑ. මට වෙන කරන්න දේකුත් නෑ. **කවදහරි මොනවහරි දෙයක් වෙලා මේ කය බිඳිල සසර ගමන ඉවර වෙනකල් මම පුටුවට වෙලා ඉන්නවා.**"

ඒ වගේම මීට අවුරුදු කිහිපයකට පෙර, අවස්ථා කිහිපයකදි උන්වහන්සේගෙ මේ කායික ස්වභාවය ගැන ඇහුවම කිව්වෙ මේ විදිහට. "**මම මගේ ජීවිත කාලය දැකල තියෙනවා. මේ තියෙන ප්‍රශ්නත් එක්ක තව කොච්චර කාලයක් ජීවත් වෙන්න පුළුවන්ද කියල බලනකොට, ඡද්දන්ත (සද්ධන්ත) කුලේ මහ ඇතෙක් දිස් වුනා. ඇතාගෙයි ජීවිත කාලයයි අතර සම්බන්ධය මොකක්ද කියල බලනකොට, ඇතාගෙ පසුපස පටන් ගෙවිල ගිහින් අන්තිමට බෙල්ල ගාවට එනකල් කකුල් දෙකෙන් බාගයක්ම ගෙවිල. ඒ පොඩ්ඩෙන් තමයි හිටගෙන ඉන්නෙ. අන්න ඒ විදිහට ගිහින් තමයි මගේ ගමනත් කෙළවර වෙන්නෙ.**" මේ විදිහට උන්වහන්සේට තමන්ගෙ ගමන කෙළවර වෙන්නෙ කොහොමද කියන කාරණය සම්බන්ධයෙනුත් යම් කිසි දැනීමක්, අවබෝධයක් පෙර පටන් පැවතුන බව මේ කාරණාවලින් පෙනී යනවා.

කොහොමහරි ඉතිං අවසාන කාලයේ දැඩි සත්කාර ඒකකයේ සතියක පමණ කාලයක් ප්‍රතිකාර ලබමින් ඉන්නකොට තමයි උන්වහන්සේ අපෙන් සමුගත්තෙ. ඒත් උන්වහන්සේ මෙච්චර ඉක්මනින් සමු ගනියි කියල කවුරුවත් හිතුවෙ නෑ. මීට කලිනුත් ඔය වගේ මාරාන්තික අවස්ථා කිහිපයකින්ම බේරිච්ච නිසා, මේ වතාවෙත් එහෙම බේරිලා රෝගී කයකින් හරි තවත් කාලයක් වැඩ ඉඳීවි කියල තමයි කවුරුත් බලාපොරොත්තු වුනේ. නමුත් අපි නොදන්න මොනව හරි සිද්ධියකින් ඒ කාරණය ඉක්මන් වෙලා තිබුනා. ඒ නිසා මේ සිද්ධිය බොහොමයක් පින්වතුන්ට තවමත් හීනයක් වගේ.



ගිහි වතක සිට සාසන මෙහෙවර ඉටු කරමින්

ඒ තමයි 2017.02.09 වැනිදා. ඒ වෙනකොටත් උන්වහන්සේට යන්ත්‍රයක ආධාරයෙන් තමයි ඔක්සිජන් වායුව සැපයුවෙ. එදා දවල් 12.45 ට විතර උන්වහන්සේගෙ හදවතේ ක්‍රියාකාරීත්වය සම්පූර්ණයෙන්ම නතර වෙච්ච බව ඒ යන්ත්‍රවලින් පෙන්නුම් කළා. ඒ කියන්නෙ වෛද්‍ය විද්‍යාවට අනුව නම් අපවත් වුනා. නමුත් උන්වහන්සේගෙන් බණ අහපු සමහර පින්වතුන්ගෙ ලොකු විස්වාසයක් තිබුනා, උන්වහන්සේ නිරෝධ සමාපත්තිය හෝ වෙනත් සමාපත්තියකට සමවැදිල ඇති, ඒ නිසා නැවතත් නැගිටියි කියල. මොකද මීට පෙර ගිහි වතක ඉඳෙද්දිත් උන්වහන්සේ විශේෂ සමාපත්ති, සමාධි ආදියට සමවැදිල දවස් 2 - 3 හිටපු අවස්ථාත් තිබිල තියෙනවා. ඒ ගැන විස්තරත් උන්වහන්සේ හෙළි කරල තිබුනා.

ඒ වගේම සමහර පින්වතුන්ගෙ විස්වාසය වුනේ, උන්වහන්සේගෙ ශරීරය දැඩි ලෙස රෝගාතුර වෙලා තියෙන නිසා උන්වහන්සේ තාවකාලිකව මේ කයෙන් ඉවත් වෙලා කය නැවතත් සුද්ධභාවයට පත් කරනව ඇති, ඒ සඳහා විවිධ දේවතා කොටස් සම්බන්ධ වෙලා කය නැවත ප්‍රතිසංස්කරණ ක්‍රියාවලියක යෙදෙනව ඇති කියල. මොකද ඒ වගේ ගුප්ත දේවල් මේ භෞතික ලෝකයෙන් ඔබ්බෙදි සිද්ධ වෙන්න පුළුවන්. එහෙම සිද්ධ වෙච්ච අවස්ථා තියෙනවා. උන්වහන්සේ ඒ සම්බන්ධයෙන් මීට පෙරත් අවබෝධයෙන් කරුණු කාරණා හෙළි කරපු අවස්ථා තිබුනා. උන්වහන්සේ ගිහි වතක ඉඳෙද්දිත් ප්‍රතිකාර ගන්න ආපු රෝගීන්ට මානසික ශක්තීන්ගෙන් විස්මිත ප්‍රතිකාර කරපු අවස්ථා තිබුනා. ඒ නිසා වටේ හිටපු ශ්‍රාවක පිරිස්වල ඒ විස්වාසයත් එක පාරටම බැහැර කරන්නත් බෑ. මොකද වෛද්‍ය විද්‍යාවට හසු නොවන ඒ වගේ ගුප්ත සිදුවීම් සම්බන්ධයෙන් ඒ හුඟක් පිරිස් උන්වහන්සේගෙන් මීට පෙර අහල තිබුනා. ඒ වගේම තවත් පින්වතුන්ගෙ නිගමනය වුනේ, මේ වගේ රෝගී කයකට උන්වහන්සේ කීයටවත් නැවත එන එකක් නෑ, එහෙම බලාපොරොත්තුවකුත් නෑ, උන්වහන්සේ අරිහත් ඵලය පූර්ණ කරල පිරිනිවන් පාන්න ඇති කියල.

හැබැයි නිරෝධ සමාපත්තිය ගැන කතා කරනකොට, කයේ බරපතල ආබාධ අසනීප තත්ත්වයන් තියෙද්දි නිරෝධ සමාපත්තියට සම වදින්න පුළුවන්කමක් නෑ. ඒ සඳහා ඒ වෙලාවෙදි කය පාලනය කරගන්න පුළුවන් තරම් නිරෝගී අවස්ථාවක ඉන්න ඕන. ඒ කාරණයත් උන්වහන්සේ මීට පෙර දේශනා කරල තිබුනා. ඒ වගේම ශරීර උෂ්ණත්වය සාමාන්‍යයෙන් ජීවත් වෙන පුද්ගලයෙක්ගෙ හා සමානව තිබීම, ඒ කියන්නෙ උෂ්ණත්වය පහළ නොවැටීම, හෘදය වස්තුවේ ක්‍රියාකාරීත්වය සම්පූර්ණයෙන් නතර වුනත් ඉන්ද්‍රියන් සජීවීව තිබීම, ශරීරයට කිසිම ආකාරයක හානියක් කරන්න බැරිවීම... ආදී විශේෂ කාරණා කිහිපයක් නිරෝධ සමාපත්තියේදි සිද්ධ වෙන බවත් උන්වහන්සේ මීට පෙර පැහැදිලි කරල තිබුනා.

ඉතිං මේ අවස්ථාවෙදිත් උන්වහන්සේගෙ හදවතේ ක්‍රියාකාරීත්වය සම්පූර්ණයෙන්ම නතර වෙලා තිබුනෙ. ඒ වගේම වායු සමීකරණය කරපු දැඩි සත්කාර ඒකකය තුලදිත් ශරීර උෂ්ණත්වය සාමාන්‍ය මට්ටමින් තිබුනා. ඊට අමතරව අතපය ඇඟිලි පවා හොඳින් නවන්න දිග හරින්න පුළුවන් වුනා. ඒ කාරණය සාමාන්‍ය කෙනෙක්ගෙ දේහයකට වඩා විශේෂත්වයක් ගන්න බව රෝහල් කාර්ය මණ්ඩලයත්, සමහර වෛද්‍යවරුත් ප්‍රකාශ කළා. මේ හේතු නිසා ඒ වටා හිටපු ශ්‍රාවකයන්ට යම් කිසි සැකයක් ඇති වුනා උන්වහන්සේ අපවත් වෙලා නෑ කියල. මේ නිසා උන්වහන්සේගෙ ශරීරයට සම්බන්ධ කරල තියෙන ඒ යන්ත්‍ර උපකරණ දැන්ම ඉවත් නොකරන ලෙස රෝහල් කාර්ය මණ්ඩලයෙන් ඉල්ලා හිටියා. උන්වහන්සේගෙන් බණ අහල යම් කිසි ආකාරයකින් විශේෂ පැහැදීමක් තිබ්බ්ච අයත් ඒ කාර්ය මණ්ඩලයේ හිටපු නිසා රෝහල් කාර්ය මණ්ඩලයත් ඊට ක්ෂණිකව අවසර ලබා දුන්නා.

කෙනෙක් මියගිහින්ද නැත්ද කියන කාරණය හරියටම බලාගන්න නම්, වෙඬරු පිඬක් හෘදය වස්තුව පිහිටි ප්‍රදේශයේ තැන්පත් කළාම ඒක දිය වෙනව නම්, ප්‍රාණය / කර්මජ තේජෝ ධාතුව තවමත් තියෙන බවට ලකුණක් බව උන්වහන්සේ මීට පෙර දේශනා කරල තිබුනා. ඒ නිසා මේ අවස්ථාවෙදිත් දවල් 12.45 ට උන්වහන්සේගෙ හෘදයේ ක්‍රියාකාරීත්වය නතර වුනත්, කර්මජ තේජෝ ධාතුව තවමත් තියෙද කියල බලාගන්න, වෙඬරු පිඬක් උන්වහන්සේගෙ පපුව මත තියල පරීක්ෂා කරල බලන්න පින්වතුන් පෙළඹුනා. ඉතා තදින් වායු සමීකරණය කරල තියෙද්දිත් විනාඩි 20 - 25 ක් තුල ඒ වෙඬරු පිඬ දියවෙලා ගියා. මේ නිසා උන්වහන්සේගෙ මනෝ කාය හා මස් ලේ ශරීරය අතර සම්බන්ධය තවමත් තියෙන බවට විස්වාසයක් ඒ පිරිසට තිබුනා. නමුත් ඒ කාරණය හරියටම නිගමනය කරන්න බෑ. මොකද ඒ තත්ත්වය උන්වහන්සේගෙ අධිෂ්ඨානයක් පරිදි සිද්ධ වුනා වෙන්නත් පුළුවන්.

කොහොම වුනත් ඊට පහුවදා වෙද්දිත් උන්වහන්සේගෙ ශරීරයේ කිසිම වෙනසක් නොතිබුනු නිසා, ශරීරයට සම්බන්ධ කරල තිබ්බ්ච යන්ත්‍ර සියල්ලම ඉවත් කළා. ඒත් අර සජීවී පුද්ගලයෙක්ගෙ තිබ්බ්ච අත් පා ඇඟිලි නැමෙන ලක්ෂණ, ශරීරය සීතල වෙලා ගල් නොගැසීම, උෂ්ණත්වය තිබීම... ආදී ලක්ෂණ ඒ විදිහටම පැවතුනා. ඉන්පසු මල් ශාලාවට ගෙනිච්චට පස්සෙත් ඒ ලක්ෂණ එහෙම්ම තිබුනා. සාමාන්‍යයෙන් කෙනෙක් මියගිහින් පැය 2 - 3 කට විතර පස්සෙ ශරීරය සීතල වෙලා ගල් ගැහෙනවා. අතපය නවන්න බැරිව යනවා. නමුත් පැය 32 කට අධික කාලයක් ගිහිල්ලත් උන්වහන්සේගෙ ශරීරයේ ඒ වගේ ලක්ෂණ තිබුනෙ නෑ. ඇඟිලි පුරුක් පවා හොඳින් නැමුනා. නියපොත්ත තද කළාම ලේ පාටට දිස් වුනා. ඇහිපිය පවා ඇරල නවන්න වහන්න පුළුවන් තත්ත්වයක් තිබුනා. ඇහේ කළු ඉංගිරියාව පවා ජීවත්ව ඉන්න කෙනෙක්ගෙ වගේ සජීවී ස්වභාවයක් තිබුනෙ. සාමාන්‍යයෙන් කෙනෙක් මියගියාම ඇහිපිය වැහිල නම් නැවත අරින්න බෑ. ඒ වගේම ඇරිල නම් නැවත වහන්නත් බෑ. වහන්න නම් නැවත මැහුම් දාන්න වෙනවා. ඒ නිසා තමයි කෙනෙක් මියගියාම ශරීරය ගල් වෙලා සීතල වෙන්න කලින් ඉස්සෙල්ලම අත් දෙක එකට බඳින්නෙ, කකුල් දෙක ළං කරන්නෙ, කට වහන්නෙ, ඇස්පිය ඇරිලනම් වහන්නෙ. මොකද පහු වෙනකොට තද වෙලා ගල් ගැහෙනවා. නමුත් ඒ ස්වභාවයන් එකක්වත් උන්වහන්සේගෙ ශරීරයේ තිබුනෙ නෑ. ඒ වගේම ශරීරයේ කිසිම ආකාරයක දුර්ගන්ධයක් තිබුනෙත් නෑ. කිසිම දෙයකින් කිසිම කෙනෙක් අප්‍රසාදයට පත් කරන්න බැරි වුනා.

ඉතිං මේ වගේ, මියගිය සාමාන්‍ය කෙනෙක්ගෙ

දේහයක නැති විශේෂ ලක්ෂණ උන්වහන්සේගෙ දේහය තුලින් දිස් වුනා. ඒ කාරණය වටාපිටාවෙ හිටපු බොහොමයක් උදවිය දැක්කා. ඒක අතිශයෝක්තියක් නෙවෙයි. හැබැයි මල් ශාලාවෙ උදවිය මේ විශේෂ කෙනෙක්ගෙ දේහයක් කියල පිළිගත්තෙ නෑ. ඒ අයට ඕන වුනේ කොහොම හරි ඉක්මනින් කපන කොටන කටයුතු සිද්ධ කරල පෙට්ටියක තැන්පත් කරල බාර දෙන්න. නමුත් උන්වහන්සේගෙන් බණ අහපු බොහොමයක් භික්ෂූන් වහන්සේලා ඇතුළු ශ්‍රාවක පිරිස් එසේ නොකරන්න තීරණය කිරීම නිසා, කැපීම් කෙටීම්වලින් තොරව උන්වහන්සේගෙ දේහය වීදුරු පෙට්ටියක තැන්පත් කරල මුද්‍රා නොතබා විහාරස්ථානයට රැගෙන යන්න තමයි මුලින් තීරණය කළේ.

නමුත් ඉතිං මේ වගේ දෙයක් සම්බන්ධයෙන් මීට පෙර ඒ පිරිස අත්දැකීම් ලබල තිබුනෙ නැති නිසාත්, මල් ශාලාවෙ උදවියටත් ඒ වගේ අත්දැකීම් තිබුනෙ නැති නිසාත්, ඔවුන්ගෙ නිගමනය වුනේ මේ ශරීරය තවදුරටත් මේ විදිහට තිබුනොත් පුපුරල ඕජස් ගලල ඉදිමිලා කුණු වෙලා ගඳ ගහයි, ඒ නිසා ඉක්මනින් මල් ශාලාවෙදී කෙරෙන කටයුතු සිද්ධ කරන්න ඕන කියල. ඔයගොල්ලන්ගෙ විශ්වාසයක් / ඇදහීමක් තියේ නම් අපි ඒකට මුකුත් කියන්නෙ නෑ, නමුත් මේ දේහය දැනටමත් හොඳටම නරක් වෙලා අපිට වගකීමකින් ඒ කටයුතු සිද්ධ කරන්නත් බැරි මට්ටමක් තියෙන්න කියල තමයි ඒ අය කිව්වෙ. ඒ නිසා දේහය ඒ විදිහටම පැය ගණනාවක් තැන්පත් කරල තිබිල අන්තිමට පැය 35 කට විතර පස්සෙ පාන්දර 1.00 ට විතර තමයි ඒ කටයුතු සිද්ධ කරන්න පටන් ගත්තෙ.

පහුවදා උදේ උන්වහන්සේගෙ ශ්‍රී දේහය සකස් කරල මල් ශාලාවෙ ටික වෙලාවකට තැන්පත් කරල තියෙද්දිත් ඒ මල් ශාලාවෙ ප්‍රධානියෙක් පැවසුවේ මේ වගේ අදහසක්. "මගේ වසර 30 ක පළපුරුද්ද හා අත්දැකීම් අනුව තමයි මම මේ කියන්නෙ. මේ දේහය පුළුවන් නම් හෙටම ආදාහනය කරන්න, බැරි නම් විතරක් ඊටත් පහුවදා ආදාහනය කරන්න. දැනටමත් දේහය හොඳටම නරක් වෙලා තියෙන්නෙ. අපිට ලැබෙන කොටත් හොඳටම සවුත්තුයි. ඒ නිසා ඒ කටයුතු ගැන අපිට වගකීමක් ගන්න බෑ. හෙටින් පස්සෙ තවදුරටත් මේක තියාගෙන හිටියොත් මිනිස්සු නාහෙ අත තියාගෙන යයි. පැත්ත පළාතකවත් ඉන්න බැරි වෙයි. ඇස්වලින්, නාහෙන්, කන්වලින් ඕජස් දාන්න ගනියි, පෙට්ටිය පුපුරන්න පුළුවන්." මේ තමයි ඒ අයගෙ මෙච්චර කලක් ලබපු අත්දැකීම් අනුව මේ දේහය සම්බන්ධයෙන් දීපු නිගමනය. ලෝක සම්මතයේ මෙච්චර කාලයක් ඒ අය දන්න විද්‍යාවන් අනුව ලබපු අත්දැකීම් නිසා මේ ඒ අයට දොස් කියනව නෙවෙයි.

නමුත් ඒ සියලු මතවාද, අත්දැකීම් බොරු කරමින්, එතැන් පටන් දින 4 කටත් වැඩි කාලයක් ඉක්ම ගියාටත් පසුවයි උන්වහන්සේගෙ ශ්‍රී දේහය ආදාහනය කළේ. එතකල් විහාරස්ථානයේ තැන්පත් කරල තිබුනා. සම්පූර්ණ කාලය බැලුවොත් දින හයකටත් වැඩියි. විසාල පිංවත් පිරිසක් අවසන් ගෞරව දක්වන්න ආවා. එතකල් මල් ශාලාවෙ අයට ඒ දේහයට කිසිම ප්‍රතිකර්මයක් කරන්න සිද්ධ වුනේ නෑ. සාමාන්‍ය දේහයක් නම් තැන්පත් කරල ටික දවසක් යනකොට මුහුණ කළු ගැහෙනවා. එහෙම දෙයක්වත් සිද්ධ වුනේ නෑ. දේහය දවසින් දවස නැවුම් ස්වභාවයකින් දිස් වෙන්න පටන් ගත්තා. මල් ශාලාවේ උදවිය අන්තිමට කිව්වෙ, දැන් නම් තවත් මාසයක් වුනත් තියා ගන්න පුළුවන් කියල. ඉතිං ඒ අය මේ ගැන පසුව පුදුම වුනත් අපට නම් ඒ ගැන පුදුමයක් නෑ. මොකද මීට පෙර, මේ වගේ ආර්ය උත්තමයන්ගෙ ශ්‍රී දේහ සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර හාමුදුරුවන්ගෙන්ම අපි අහල තිබුනා. **ආර්ය උත්තමයන් වහන්සේ නමකගේ දේහය සාමාන්‍ය පෘතජ්ජනයෙක්ගෙ දේහයක් වගේ කුණු වෙලා ඕජස් ගලල අනිත් මිනිස්සු අප්‍රසාදයට පත් කරන මට්ටමට පත් නොවන බව උන්වහන්සේ මීට පෙර** ප්‍රකාශ කරල තිබුනා. ඒකට හේතු පවා උන්වහන්සේ පැහැදිලි කරල තිබුනා. (30 කලාපය බලන්න) අන්තිමට ඒ කාරණා උන්වහන්සේගෙ දේහයටත් අදාළ වුනා.

ඒ අනුව උන්වහන්සේ ළඟ අනුන් සීතල කරවන, ගල් ගස්සවන, දරදඬු කරවන ගති ලක්ෂණ තිබුනෙ නැති නිසා, ඒ දේහයත් ඊට අනුකූලව රසායනික පරිවර්තනයකට භාජනය වෙලා සීතල නොවී, ගල් නොගැසී, දරදඬු නොවී තිබුනා. ඒ වගේම අනුන් ගඳ ගස්සවන, අපහාසයට පත් කරවන දුස්සීල ගති ලක්ෂණ නොතිබ්බ නිසා, හේතුවට අනුකූල ඵලය විදිහට ඒ ශ්‍රී දේහයත් ඒ වගේ තත්ත්වයන්ට පත් වුනේ නෑ, මිනිස්සු අප්‍රසාදයට පත් කරවන තත්ත්වයට පත් වුනේ නෑ.



අවසන් මොහොත...

මේ සඟරාව මුද්‍රණයට උපකාර කරන මහත්මයෙක් උන්වහන්සේගෙ දේහයට අවසන් ගෞරව දක්වන්න විහාරස්ථානයට ගියා. ඔහු මීට පෙර කවදාවත් ඒ පන්සලට ගිහින් තිබුනෙ නෑ. වහරක හාමුදුරුවො ඇස් දෙකින් දැකල තිබුනෙත් නෑ. දේහයට අවසන් ගෞරව දක්වල එද්දි ඔහු කියනවා, මම මීට පෙර ඕන තරම් මළ ගෙවල්වල ගිහින් තියෙනවා, ඒ හැම එකකම මිනිය ළඟට යනකොට එම්බාම් කරපු ස්වභාවයේ පුංචි ගන්ධයක් හරි දැනෙනවා, ඒත් උන්වහන්සේගෙ දේහය ළඟට යනකොට අමුතු නැවුම් ගතියක් දැනුනෙ, සාමාන්‍ය දේහයක නැති ස්වභාවයක් දැනුන කියල. ඒ වගේ උන්වහන්සේගෙ දේහයෙන් පවා විශේෂ ලක්ෂණ නිරීක්ෂණය කරපු අය තවත් හිටියා.

ඉතිං උන්වහන්සේ ළඟ එදා ඉඳන් වරින්වර ඇප කැප වෙලා ඇප උපස්ථාන කරපු පින්වතුන් බොහොමයක් හිටියත් අවසාන අවුරුදු 7 - 8 ක කාලය තුළ උන්වහන්සේව රැක බලා ගත්තු ප්‍රධාන කැපකරු මහත්මයෙක් හිටියා. අවසාන කාලයේ උන්වහන්සේට කායිකව මුකුත් කර කියාගන්න බැරිවෙනකොට ළඟ ඉඳගෙනම දානය අනල කැව්වෙ, වැසිකිළියට උස්සගෙන පවා ගියේ ඔහු. ඒ සඳහා ඔහු දිවා රෑ නොබලා කටයුතු කළා. ඉතින් මේ සම්බන්ධයෙන් ඔහුගෙත් හොඳ අත්දැකීම් තියෙනවා. ඒත් ඔහු තමන්ගෙ නම සඳහන් නොකරන ලෙස ඉල්ලා සිටියා. මේ තමයි උන්වහන්සේ රැක බලා ගන්න කාලය තුල ඔහු ලබපු අත්දැකීම් ඉතා කෙටියෙන්.

"මීට අවුරුදු දෙකක පමණ කාලයක පටන් තමයි උන්වහන්සේට ගුප්ත ලෝකයෙන් මාර පාක්ෂික බලවේගවල පහරදීම් එල්ල වෙන්න ගත්තෙ. මානසිකව විතරක් නෙවෙයි කායිකවත් හිරිහැර කළා. වේදනාවෙන් කෑ ගහනකොට මම අහනවා, ඇයි අපේ හාමුදුරුවනේ කියල. එතකොට උන්වහන්සේ කියනවා, මෙන්න මෙහෙම ගුප්ත ලෝකයෙන් එන බලපෑමක් තියෙන්නෙ, මේකට කාටවත් ප්‍රතිකර්ම කරන්නත් බෑ කියල. ඉතින් වේදනාව හුඟක් වැඩිවෙනකොට සමහර අවස්ථාවල මහ රෑ 1 - 2 ට පවා උන්වහන්සේ ඒ වේදනාවෙන්ම, අනිච්චාවත සංඛාරා... ආදී විවිධ ගාථා කියනවා, කර්මස්ථාන සජ්ඣායනා කරනවා. සමහර ඒවා අවස්ථානුකූලව කවියෙන්ම ගෙතිල එනවා.

කැක්කුම්වල නම්
අඩුවක් නොවන්නේ
මේ වේදනාවට
රිස්සුම් නොදෙන්නේ
මේ කය වදේ
මා අතපසු කරන්නේ
කවදද හවේ
කෙළවර මම දකින්නේ

කොච්චර අමාරු වුනත් සමාධියේ ඉඳගෙනම තමයි මේව කියන්නෙ. ''මම හිතුවෙ මේකෙන්ම මැරෙයි කියල, අනේ මේ කරුමෙ තාමත් තියෙනවනෙ, අනේ තවත් විඳවන්න වෙනවනෙ'' මෙහෙම කියල හිටි ගමන් කෑ ගහනවා. ඒ අසනීපයෙන් කොයිවෙලේ හරි පණ යනවනම් උන්වහන්සේ ඒ තරම් කැමැත්තෙන් හිටියෙ. තදබල කැක්කුම් තියෙන කොට සමහර අවස්ථාවල, මං අපවත් වේවා...!!! කියල කර්මස්ථානයක් විදිහටත් වැඩුවා. හැබැයි ඒ වඩනවත් එක්කම වේදනා කැක්කුම් ගොඩක් අඩු වෙච්ච අවස්ථාත් තිබුනා. මීට මාස 4 - 5 කට විතර උඩදි සැහෙන වේදනාවක් ආපු වෙලාවක කිව්වා, දැන් මගේ කාරිය ඉවරයි, මම ආපු කාරියත් ඉවරයි, ඔයාලගෙ කටයුතු කරගන්න, සමහරවිට මේ අසනීපයෙන්ම මම මැරෙන්නත් පුළුවන් කියල. තව අවස්ථාවකදි කිව්වා, මම ඉතිං ලෝකයට කරන්න ඕන හරියත් කරල තියෙන්නෙ, මගේ කටයුතුත් දැන් මම කරගෙන තියෙන්නෙ, ආයෙ මට කරන්න දේකුත් නෑ කියල. ඒ වචන ටික තමයි මට ගොඩක් විස්වාසයක් තිබුනෙ.

ඉතිං අන්තිම කාලෙ උන්වහන්සේ ඇඳටම වෙලා හිටියෙ. එතකොට කිව්වෙ මට මෙහෙම්ම ඉන්න දෙන්න, මම සමාධියේ ඉන්නෙ කියල. හැබැයි උඩු අතට ඉඳගෙන අතින් ආශිර්වාද කරනව වගේ මොනවද මුමුණනවත් ඇහෙනවා. මං ඇහුවම මොකද අපේ හාමුදුරුවනේ කියල, දෙවිවරු ඇවිත් විවිධ දේවල් පූජා කරනවලු, වැඳල යනවලු, සමහර අමනුස්සයොත් ඇවිත් වැඳල යනවලු. ඒ අයට උන්වහන්සේ ආශිර්වාද කරනවලු. ඒ අතර සැහෙන්න කරදර කරන මාර පාක්ෂික බලවේගත් එනවලු. උන්වහන්සේට ඉතිං ඇස් දෙකට පේනව වගේ ගුප්ත ලෝකයෙ දේවල් සජීවීව පේනවා. කවුද එන්නෙ, මොකටද එන්නෙ, මොනවද කරන්නෙ... ඒ ඔක්කොම උන්වහන්සේ දකිනවා. ඉතිං ඒ සියල්ලම ඉවසගෙන හිටියා. අන්තිම කාලෙ වෙනකොට බේත් ටික ගන්න එක පවා ප්‍රතික්ෂේප කළා. ගණන් ගත්තෙ නෑ. සමාධියේ හිටපු නිසා කතා කළාට ඇහෙන්නෙත් නෑ. උන්වහන්සේ කියපු දේවල් අපිට තේරෙන්නෙත් නෑ. මොකද කය විතරක් නෙවෙයි, කටහඬත් බොහොම දුර්වලයි. බේත් ටික ගත්තත් එකයි නොගත්තත් එකයි කියන අදහසක තමයි අන්තිම කාලෙ හිටියෙ. කොටින්ම කය අතහැරල දාල වගේ හිටියෙ. අන්තිමට දානෙ ගත්තෙත් නෑ. ගන්න බෑ, ගිලින්න බෑ කියනවා. ඇඳටම වෙලා හිටියෙ. ඇහුවම සමාධියෙන් ඉන්නෙ කියනවා.

ඒත් ගුප්ත ලෝකයෙන් පිරිස් ඇවිත් ඔහොම කරදර කරනකොට දවසක් කිව්වා, උඹලට මගේ කය ලෙඩ කරන්න පුළුවන් වුනාට හිත ලෙඩ කරන්න බෑ කියල. අන්තිම කාලෙ වෙත්දි ඉතිං උන්වහන්සේ බණ කියන්නවත්, වෙනත් මොනවහරි කරන්නවත් බලාපොරොත්තුවක් තිබුනෙ නෑ. යම් කිසි කෙනෙක් යහපතක් කරගන්න ආවොත්, අමාරුකම් තිබුනත් පුළුවන් විදිහට ආශිර්වාද කරන්න ඉදිරිපත් වුනා. කවුරුහරි වඳින්න, ආශිර්වාද ගන්න ඇවිත් ඉන්නව කියල කිව්වොත් කවදාවත් හරවල යැව්වෙ නෑ. ඒ වේදනා කැක්කුම් අස්සෙම පුළුවන් විදිහට ආශිර්වාද කළා. එහෙම කරන්නත් බැරි අවස්ථා තිබුනා. ඒ බොහොම තදබල වේදනාවලදි. මම හිතන්නෙ ඒ මාර පාක්ෂික බලවේග ඇතුළු ගුප්ත ලෝකයේ ඉන්න අමනුස්සයො උන්වහන්සේට මුලින්ම පුළුවන් තරම් මානසික වද දීල, ඒකෙන් වට්ටන්න බෑ කියල දැනගෙන ඊට පස්සෙ තමයි කායික වේදනා දෙන්න ඇත්තෙ. කය මේ තරම් දුර්වල වෙන්න ඒකත් බලපාන්න ඇති. කොහොම හරි ඉතිං උන්වහන්සේ වරින්වර කරපු ප්‍රකාශවලින් මම හිතන්නෙ උන්වහන්සේ තමන්ගෙ වැඩේ කරගත්ත කියල."

ඒ වගේම උන්වහන්සේ මතු කළ මේ සැඟවුනු දහම අහල, බණ භාවනා කරගෙන නිහඬව තමන්ගෙ වැඩ කටයුතු කරගෙන යන පින්වතුන් පිරිසකුත් ඉන්නවා. ඒ සමහර අයට යම් යම් අධ්‍යාත්මික ශක්තීන්ගෙන් නොපෙනෙන ලෝකය දකින්න හැකියාවක් තියෙනවා. අතිශයෝක්තියකින් තොරව ඒ වගේ දැනුනු, දැකපු පින්වතුන් කිහිප දෙනෙකුත් තමන්ගෙ අදහස් ඉදිරිපත් කළා. ඒ සමහරු නම් ගම් සඳහන් නොකරන ලෙසත් ඉල්ලා සිටියා.

ගොඩගම ප්‍රදේශයේ පදිංචි ආර්. එච්. එම්. දිසානායක මහතා ඉදිරිපත් කළ අදහස් තමයි මේ.

"ජනවාරි 28 මම ගෙදර ඉඳගෙන භාවනා කරනකොට වහරක හාමුදුරුවො වෙනද දකිනවට වඩා වෙනස් ස්වභාවයකින් දැක්කා. ඒ කියන්නෙ වෙනද දකිනකොට විසාල එළියක් එක්ක ප්‍රභාෂ්වරත්වයේ උපරිම තැනක තමයි ඉන්නෙ. එදා ප්‍රභාෂ්වරත්වයේ නැති වීමක් නෙවෙයි දැක්කෙ, උන්වහන්සේ මේ කය අතහැරල යනව වගේ ස්වභාවයක් තමයි දැක්කෙ. ඒ කියන්නෙ මේ ගමන තවත් යා යුතු නෑ, මේ කයත් එක්ක ☞

තවදුරටත් යන්න පුළුවන්කමක් නෑ වගේ අදහසක්. මොකද තව දුරටත් මේ කයත් එක්ක හිටියොත් විසාල දුකක් විඳින්න සිද්ධ වෙනවා. ඒ නිසා මේ කයත් එක්ක තවදුරටත් යන්න පුළුවන්ද කියන ප්‍රශ්නය තමයි ආවෙ. ඉතිං මම ළඟින් හිටපු පිරිසකටත් කිව්වා, ඉදිරි කාලය ටිකක් හොඳ මදි කියල. ඊට දවස් කිහිපයකට පස්සෙ තමයි උන්වහන්සේ දැඩි සත්කාර ඒකකයට ඇතුළත් කළා කියල දැනගත්තෙ.

ඒ වගේම මට තවත් දැනිච්ච දෙයක් තමයි පෙබරවාරි 9 වෙනිදා තීරණාත්මකයි කියල. එතකොට අපි තවත් පිරිසක් එක්ක තීරණය කරල තිබුනෙ, 9 වෙනිදා අනුරාධපුරේ ගිහින් රුවන්වැලි මහා සෑය ළඟ භාවනා කරල, 10 වෙනිද තියෙන කුටි පූජාවකට සහභාගි වෙන්න. 7 වෙනිද මම කිව්වා ඒ කුටි පූජාව අවලංගු කරන්න කියල. ඒ වගේම අපිත් එක්ක යන්න හිටපු පිරිසෙන් දෙන්නෙකුට මම කිව්වා නවතින්න කියල. ඒ දෙන්නා හිටියොත් හොඳයි කියල මට හිතුනා. මමයි, තව පිරිසකුයි 9 වෙනිද උදේ අනුරාධපුරේ යන්න ගිහින් මගදි හැරිල අන්තිමට වෙනත් බෝධීන් වහන්සේ නමක් ළඟට තමයි ගියේ. එහේදි තමයි මට පණිවිඩය ලැබුනෙ ස්වාමීන් වහන්සේ අපවත් වුනා කියල. ඒ වෙලාවෙ හිතාගන්නත් බැරි අමුතු සීතල සුළඟක් හමාගෙන ගියා. ඒක පිරිසෙ හැමෝම අත්දැක්කා. හැම කෙනෙක්ම කිව්වා හරි අමුතු සුළඟක් කියල. ඊට පස්සෙ අපි නැවතත් කොළඹට ආවා.

ඉතිං මට මේ තිස් එක් තලය බලන්න පුළුවන්කමක් නෑ, තාම එහෙම හැකියාවක් නෑ. එහෙම හැකියාව තියෙන උත්තමයො ඉන්න පුළුවන්. නමුත් මට විස්වාසයක් තියෙනවා, උන්වහන්සේ අරිහත් ඵලය පූර්ණ කරගෙන පිරිනිවන් පෑව කියල.

ඉතිං මෙතනදි උන්වහන්සේගෙ දේහය සම්බන්ධයෙන් කටයුතු කරපු ආකාරය බැලුවොත් අපිට කාටවත් දොස් කියන්න බෑ. මොකද මීට පෙර අපිට එහෙම අත්දැකීම් නෑ. රහතන් වහන්සේ නමකගෙ දේහයක් අපි මීට පෙර දැකල තිබුනෙ නෑ. මේ තමයි පළවෙනි අත්දැකීම. එතකොට අපි කාටත් අමතක වුනා උන්වහන්සේගෙන් අහන්න, රහතන් වහන්සේ නමක් පිරිනිවන් පෑවට පස්සෙ දේහයේ ස්වභාවය මොන වගේද, කොහොමද ක්‍රියා කරන්න ඕන කියල. ඒ සම්බන්ධයෙන් අහල තිබුන නම් ඔය වගේ ප්‍රශ්න එන්නෙ නෑ. ඉතිං මේ සිද්ධියෙන් පස්සෙ මේ වගේ අවස්ථා ගැන මම පොතපතින් හොයල බැලුවා, උන්වහන්සේගෙ දේශනා අහල බැලුවා. උන්වහන්සේගෙ ශරීර උෂ්ණත්වය, අතපය ඇඟිලි සියල්ල දරදඬු නොවී සාමාන්‍ය විදිහට නැමෙන ස්වභාවයෙන් දිස්වීම ආදී විශේෂ ලක්ෂණ නිසා ඒ කරුණු හොයනකොට මට දැනිච්ච දෙයක් තිබුනා.

රහතන් වහන්සේ නමකගෙ දේහයට අමනුස්සයින්ට ඇතුල් වෙන්න බෑ. සාමාන්‍යයෙන් කෙනෙක් මියගියාම තමයි ඒ ශරීරය සම්පූර්ණයෙන්ම



අමනුස්සයින්ට අයිති වෙන්නෙ. ඊට පස්සෙ උන් ඒ ශරීරයට ඇතුල් වෙලා උන්ට අවශ්‍ය ශක්තිය උරා ගන්නවා. එතකොට ඒ මෘත ශරීරයේ උඩ ඉඳන් පහළට ගල් වෙන්න ගන්නවා. එතකොට තමයි කය සීතල වෙන්න ගන්නෙ. නමුත් මේ දේහය ආර්ය උත්තමයන් වහන්සේ නමකගෙ. ඒ නිසා උන්වහන්සේ මේ කය අතහරින්න පෙර අධිෂ්ඨානයක් කරල යන්න ඇති, කයේ තේජෝ බලය පිහිටන්න කියල. තේජෝ බලය තියෙන නිසා රස්නෙයි. එතකොට ඒ ශරීරයට අමනුස්සයින්ට ඇතුල් වෙන්න බෑ, අමනුස්සයින්ට ඒ දේහයෙන් මුකුත් උරා ගන්න බෑ, නරක් කරන්න බෑ, ගඳ ගස්සවන්න බෑ. ඒ නිසා මෙහෙම දෙයක් සිද්ධ වෙන්න ඇති කියලයි මට හිතෙන්නෙ. උන්වහන්සේ අධිෂ්ඨානයක් කරල සියළු පිරිසට ආශිර්වාද කරල පිරිනිවන් පාන්න ඇති කියලයි මට හිතෙන්නෙ. නමුත් මට දැනුනු විදිහට, ඒ වෙලාවෙදි මාර පාක්ෂික බලවේගවලට, අමනුස්ස බලවේගවලට ලොකු ඕනකමක් තිබුනා, මේ ඒ වගේ උත්තමයෙක් නෙවෙයි කියල අපහාස කරන්න, ඒ බව පෙන්වන්න. ඒ නිසා ඒ බලවේග උන් වහන්සේ වටේ හිටපු පිරිසගෙ මානසිකත්වයත් යම් යම් ආකාරවලට අවුල් කරන්න ඇති කියලයි මට හිතෙන්නෙ. ඒ නිසා තමයි මේ වගේ ව්‍යාකූල තත්ත්වයක් ඇති වුනේ. ඉතිං ඒකට කාගෙවත් වරදක් මම දකින්නෙ නෑ. කොහොමහරි අන්තිමට එහෙම අප්‍රසාදයකට පත් වෙන තත්ත්වයට පත් කරන්න බැරි වුනා. එහෙම වෙන්න හේතු නෑ.

ඒ වගේම බුදුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලයේ එක්තරා රහතන් වහන්සේ නමක් නිරෝධ සමාපත්තියට සමවැදිල දින 6 ක් ඉඳල තියෙනවා. එතකොට උන්වහන්සේ වටා හිටපු පිරිස් හිතල තියෙන්නෙ අපවත් වෙලා කියල. ඒ නිසා දර සෑයක් හදල උන්වහන්සේගෙ දේහය තැන්පත් කරල ගින්දර දාල දවන්න ගත්තා. ඊට පහුවදා 7 වෙනි දවසෙ උන්වහන්සේ අළු ගසල දාල නැගිට්ටා. මොකද නිරෝධ සමාපත්තියේ ඉන්න පුළුවන් උපරිම දින 7 යි. මේ සිද්ධිය දැනගත්තට පස්සෙ බුදුන් වහන්සේ අනුදැන වදාරළ තියෙනවා, මීට පස්සෙ තවත් කෙනෙක් දැනුවත් කරල නිරෝධ සමාපත්තියට සමවදින්න කියල. මොකද නැත්නම් මිනිස්සු හිතන්නෙ පණ ගිහින් කියල. ☞

ඒ කාරණයත් මම වහරක හාමුදුරුවන්ගෙ දේශනාවකින් තමයි දැනගත්තෙ.

ඒ වගේම ඒ අවසාන මොහොතෙ දේව බ්‍රහ්ම කොටස් පවා කම්පා වෙලා හිටියෙ. ඒ අයට කරන්න දෙයක් නෑ. මාර පාක්ෂික බලවේග වැඩි වුනාම ඒ අය ඉවත් වෙනවා. බුදුන් වහන්සේ මාර පරාජය කරන අවස්ථාවෙ වෙච්ච සිදුවීම්වලිනුත් ඒ කාරණය පැහැදිලි වෙනවා. දෙව් බඹුන් පලා ගියා. කොහොම හරි උන්වහන්සේගෙ අධිෂ්ඨානය නිසා මාර පාක්ෂිකයන්ගෙ බලාපොරොත්තුව ඉෂ්ට වුනේ නෑ.”



උන්වහන්සේ මේ කය අතහරින මොහොතෙ ඒ අසළ හිටපු තවත් මහත්තයෙක් තමන්ගෙ අත්දැකීම මේ විදිහට හෙළිදරව් කළා.

“මම ඒ ස්ථානයට ඇවිත් ටික වෙලාවකින් උන්වහන්සේගෙ ශරීරයට උඩින් සුදු පාට ආලෝක කදම්භයක් දැක්කා. ඊට පස්සෙ කෙටි වෙලාවක් උන්වහන්සේ බෝධින් වහන්සේ ළඟ ගාථාවක් සජ්ඣායනා කරමින් ඒ බෝධියට විසාල ශක්තියක් යොමු කරනව වගේ දැක්කා. ඒක ඉවර වෙනවත් එක්කම සුළඟට අහුවෙච්ච දුමාරයක් වගේ දෙයක් ක්‍රමයෙන් විසිරිලා යනව වගේ උන්වහන්සේ බොඳ වෙලා ගිහින් අංශු විහිදිලා යන ස්වභාවයක් තමයි දැක්කෙ. ඊට පස්සෙ උන්වහන්සේ ගැන කිසිම දත්තයක් අහුවුනේ නෑ.

උන්වහන්සේ කය අතහරින මොහොතේ දෙව් බඹුන් සැහෙන පිරිසක් කම්පා වුනා, දුක් වුනා. අනේ අපිට මේ වගේ ශ්‍රේෂ්ඨ උතුමෙක් නැති වුනානෙ, අපිට මේ වගේ ශ්‍රේෂ්ඨ දහමක් දේශනා කළා, මේ වගේ අය තව තවත් බිහි වෙන්න ඕන... ආදී වශයෙන් කියමින් දෙව් බඹුන් සැහෙන පිරිසක් ඇඬුවා. ඒ අයගෙ මුහුණු මැළවිලා තිබුනෙ. බොහොම වික්ෂිප්ත වෙලා. හරියට මලක් පිපිල පරවෙනව වගේ. ඒ අය හරියට බුදුන් වහන්සේට පසුව පහළ වෙච්ච අනුබුදු කෙනෙකුට වගේ තමයි සැළකුවෙ. ඒ වචනයත් ඒ අයගෙන් පිටවුනා. ඉතිං ඒ දේවතා කොටස් එකතු වෙලා උපහාර පවා පැවැත් වුවා. කය අත්හරින්න පෙර දෙවිවරු මල් දැම්මා. සමහරු පවන් සැලුවා. එතකොටත් උන්වහන්සේ යන්ත්‍රාධාරයෙන් හිටියෙ.

ඒ වගේම මාර පාක්ෂික කොටස් සාද පැවැත් වුවා. වසවර්ති මාරයා කියන්නෙ බොහොම ලස්සන කෙනෙක්. ඔහුගෙ සේනාව වගේ ඉන්න පිරිස කිඹුල් මූණු, යක් මූණු සහ මනුස්ස ශරීරවලින් නොයෙක් වෙස් අරගෙන හිටියා. ලස්සන අයත් ඒ අතර හිටියා. ඒ අය සේනාවත් එක්ක ආයුධ බිම තියල ජයග්‍රාහීව ජය පැන් බිව්වා. සමහරු කෑ ගහනවා, උඹලගෙ නායකයා දැන් ඉවරයි, අපේ වැඩේ හරි, අදින් පස්සෙ අපේ නායකයට තිබ්බ ප්‍රශ්න ටික ඉවරයි කියල. ඒ අයගෙ සෝෂා හඬ හොඳට ඇහෙනවා. ඒක නිකං අපේ භාෂාවෙන් පරිවර්තනය වෙලා වගෙයි ඇහෙන්නෙ. හැබැයි ඒ අය දන්නවා, වහරක හාමුදුරුවන්ගෙන් බණ අහපු තවත් ශ්‍රාවකයො ඉන්නව කියල. ඒ ගැනත් ඒ අය බලාගෙන ඉන්නෙ. ඒ අය අතරින් කවුරු හරි වහරක හාමුදුරුවො වගේ ප්‍රසිද්ධියේ බණ දහම් කියනකොට ඒ බලපෑම එන්න පුළුවන්. ඉතිං මේ සිද්ධිය දැක්කම හරියට දුක හිතෙනවා.”

මීට අමතරව තවත් විවිධ පින්වත් පිරිස් තමන්ගෙ අධ්‍යාත්මික ශක්තියෙන් මේ අවස්ථාව විවිධාකාරයෙන් දැකල තිබුනා. උන්වහන්සේ ජය ශ්‍රී මහා බෝධිය ළඟ යම් කිසි ගාථාවක් සජ්ඣායනා කරමින් ශක්තිය ගැබ් කළ බවත්, ඉන්පසු සිවුවනක් පිරිසට ආශිර්වාද කරල නෙළුම් මල් ගොඩක් උඩ දකුණු ඇලයෙන් සැතපිලා ක්‍රමයෙන් ඈතට පා වෙලා ගිහින් අන්තිමට ඉඳිකටු තුඩක් තරමට කුඩා වෙලා නොපෙනී ගිය බවත් සමාධි වඩපු සමහර පින්වතුන් දැකල තිබුණා. ඒ වගේ තවත් සුවිශේෂීය සිදුවීම් දැකපු පින්වතුන්ගෙ අත්දැකීම් කිහිපයක් මීළඟ කලාපයෙන් ඉදිරිපත් කරන්න බලාපොරොත්තු වෙනවා.

ලෝක විෂය අචින්ත්‍ය නිසා විවිධ අය වඩල තිබ්බ අධ්‍යාත්මික මට්ටම් අනුව ඒ විදිහෙ විවිධාකාරයෙන් දකින්න පුළුවන්. කොහොම හරි ඒ සියලුම කරුණු කාරණා සම්පිණ්ඩනය කරල, උන්වහන්සේ කියපු කාරණාත් එක්ක ගලපල බලනකොට නිගමනය කරන්න පුළුවන්, උන්වහන්සේ මේ සසර ගමන කෙළවර කරගන්න තැනට කටයුතු සම්පාදනය කරගෙන තිබුන බව. උන්වහන්සේ කය අතහරින්න පෙර අරිහත් ඵලය පූර්ණ කරගෙන හිටියද, කය අත්හරින මොහොතේ හෝ කය අත්හැරල අන්තරා පරිනිබ්බායී අවස්ථාවට පත් වෙලා ඒ කටයුතු පූර්ණ කරගත්තද කියන කාරණය තමයි අපි දන්නෙ නැත්තෙ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# භික්ෂුවගේ ගමන් මග...

භික්ෂුවගේ ගමන් මග කොහොම වෙන්න ඕනද කියන කාරණය සම්බන්ධයෙන් මේ ලිපිය ලියන්න හිතුනෙ යුගයේ අවශ්‍යතාවයක් ඉටු කිරීමක් විදිහට. වසර 2600 කට පෙර බුදු සම්දුන් ජීවමානව වැඩ සිටි සමයේ හිටපු භික්ෂු සමාජය සහ වර්තමාන භික්ෂු සමාජය ගලපල බැලුවම අහසට පොළව වගේ.

හැම දෙයක්ම වෙනස් වන ලෝකයේ භික්ෂු සමාජයත් මේ වෙනකොට උඩු යටිකුරු වෙලා තියෙන්නෙ. ඒක ලෝක ස්වභාවය කියල හිතන්න වෙනවා. ඒකට කාටවත් චෝදනා කරල වැඩක් නැති වුනත්, යථාර්ථය කතා කිරීම කාලයේ අවශ්‍යතාවයක් කියල හිතනවා.

ප්‍රඥා අධික බුදුවරයන් වහන්සේ නමකගෙ සාසනයක් පහල වුනාම ටික කාලයක් බැබළිලා නැවත පසු බැම්වලට ලක්වෙනවා. නැවතත් කලින් කල මුහුදු රැල්ලක් වගේ මතු වෙනවා, යටපත් වෙනවා. දැනට වසර දහසකට පමණ උඩදි මහ රහතන් වහන්සේලා වැඩ හිටිය කියල ඉතිහාසගත තොරතුරුවලින් විස්වාස කරන්න පුළුවන්.

මලියදේව මහ රහතන් වහන්සේ වගේ සිවුපිළිසිඹියාපත් මහ රහතන් වහන්සේලා වැඩ සිටියට පස්සෙ ඒ වගේ රහතුන් වැඩ සිටිය බවක් සාසන ඉතිහාසයෙන් පේන්නෙ නෑ. ඒකට හේතුව තමයි, මගඵල ලබන්න හේතු වාසනා ඇති පිරිස් සහ මගඵල ලාභීන් හිඟ වෙනකොට සාසනය පසුබැමකට ලක් වීම. සසුන කියන්නෙ වෙහෙර විහාර ගොඩනැගිලිවත්, පිංකම් උත්සව, පෙරහැරවල්වත්, දාන මාන, පාංශුකුල, බෝධි පූජා, පිරිත් පිංකම්වත්, පොත්පත් ආදියවත් නෙවෙයි. ස්ව හෙවත් මමත්වය නසන න්‍යාය තමයි සාසනය කියන්නෙ. ධ්‍යාන මාර්ග ඵල ලාභී ආර්ය උතුමන් ලෝකයේ වැඩ ඉන්නව නම් ඒ තමයි සාසනයේ බැබලීම. ඒ වගේ උතුමන් නැති කල සාසනයේ පිරිහීම. සාසනය විදිහට තථාගත දේශනයේ සඳහන් වෙන්නෙ පහත කරුණු. (ධම්ම පදය)

කෝසජ්ජං භයතෝ දිස්වා
විරියාරම්භඤ්ච ඛේමතෝ
ආරද්ධ විරියා හෝථ
ඒසා බුද්ධානු සාසනී

කුසීතකම බයක් විදිහට දැකල ධර්මාවබෝධය සඳහා වීර්ය කිරීම නිර්භය දෙයක් විදිහට වටහගෙන නිවන් දැකීමට පටන් ගන්නා ලද වීර්ය ඇති කෙනෙක් වෙන්න. මෙය බුද්ධ සාසනයයි.

විවාදං භයතෝ දිස්වා
අවිවාදංච ඛේමතෝ
සමග්ගා සඛිලා හෝථ
ඒසා බුද්ධානු සාසනී

විවාදය බයක් විදිහට දැකල, අවිවාදය නිර්භය දෙයක් විදිහට තේරුම් අරගෙන සමගිය ඇති කර ගන්න. මේ විවාදය කියන්නෙ ලෝක සම්මතයේ වාද විවාද කියන අර්ථය නෙවෙයි. රාග, ද්වේශ, මෝහ විවාදය. එයින් මිදීම තමයි අවිවාදය. එහෙම මිදුනම සමගිය නමැති නිවන ලැබෙනවා. මේ තමයි මේ දේශනාවේ පරමාර්ථ ගැඹුරු අර්ථය. මේ තමයි බුද්ධ සාසනය.

පමාදං භයතෝ දිස්වා
අප්පමාදංච ඛේමතෝ
භාවේ චට්ඨංගිකං මග්ගං
ඒසා බුද්ධානු සාසනී

ප්‍රමාදය බයක් විදිහට දැකල, කෙළෙස් ප්‍රහාණයට අප්‍රමාදී වීම නිර්භය දෙයක් විදිහට දැකල අරි අටඟි මග වඩන්න. එය බුද්ධ සාසනයයි.

අනූපවාදෝ අනූපඝාතෝ
පාතිමොක්ඛේච සංවරෝ
මත්තඤ්ඤුථාච භත්තස්මිං
පන්තඤ්ච සයනාසනං
අධි චිත්තේච ආයෝගෝ
ඒතං බුද්ධාන සාසනං

අනුන් හෙළා තලා කතා නොකිරීම, අනුන් නොනැසීම, අනුන්ට හිංසා පීඩා නොකිරීම, ප්‍රාතිමෝක්ෂ සංවර සීලයෙන් යුක්ත වීම, ආහාරයේ පමණ දැන වැළඳීම, විවේක සෙනසුන්වල කැමැත්තෙන් වාසය කිරීම, ධ්‍යාන සමාධි වැඩීම බුද්ධ සාසනයයි.

අකුසලය පහ කරමින් කුසලය වඩාගෙන සිත දමනය කිරීම බුද්ධ සාසනය ලෙසත් සබ්බ පාපස්ස අකරණං... ගාථාවේ සඳහන් වෙනවා. මේ කිසිම බුද්ධ වචනයක ආර්ය මාර්ගයෙන් පරිබාහිර දෙයක් සාසනය හැටියට දක්වල නෑ. අනිත් සියල්ල ගහක කොළ, අතු, පොතු වගේ. සාසන වෘක්ෂයේ අරටුව කියන්නෙ නිර්වාණ ගාමිණී ප්‍රතිපදාව පමණයි.

බුද්ධ සාසනය විදිහට තථාගත දේශනය තුල මේ කරුණු දක්වල තිබුනත්, බෞද්ධ යැයි සම්මත බහුතරයක් දෙනා සසුන විදිහට හිතාගෙන ඉන්නෙ ආර්ය මාර්ගයෙන් පරිබාහිරව තියෙන, මුලිනුත් සඳහන් කළ සම්මත ලෞකික කාරණා. **සාසනය ආරක්ෂා කරනව කියන්නෙ, තම තමන් පුද්ගලිකව අධ්‍යාත්මය දියුණු කිරීම මිසක් සටන් කරල, පෙළපාලි ගිහින්, විරෝධතා ඇති කර ගනිමින් දඩබ්බර චරිත රඟ දැක්වීම නෙවෙයි.** ☞

**සාසනය විනාස කරන්න බාහිර බලවේගයකට පුළුවන්කමක් නෑ.**

බුද්ධ සාසනය කියල කියන්නෙ බුදුවරු ලෝකයට දේශනා කරන අනුසාසනය. සියලු බුදුවරුන්ගේ අනුසාසනය, අකුසලයන් අකර්මන්‍ය කරල ලෝකෝත්තර කුසලය උපසම්පදා කරගෙන, සිත පංච උපාදානස්කන්ධයෙන් අරිය කර ගැනීම (පරියෝදපනං).

රිය කියන්නෙ ගමන් කිරීම. ලෝක සත්ත්වයා අවිද්‍යාව තෘෂ්ණාව නිසා ලෝකය අග්‍ර කරගෙන සංසාර රියේ ගමන් කරනවා. ඒ රිය නවතා දැමීම තමයි අරිය කියල කියන්නෙ. පංච උපාදානස්කන්ධය කියන පහ, අරිය කරගෙන සිත් පෙළ දපනය කර ගැනීම තමයි බුද්ධ සාසනය.

වර්තමානයේ බුද්ධ සාසනය රකින්න, දියුණු කරන්න බුද්ධ සාසන අමාත්‍යාංශය, බෞද්ධ කටයුතු දෙපාර්තමේන්තුව, සාසනාරක්ෂක බල මණ්ඩල තියෙනවා. සාසන වෘක්ෂයේ කොළ, අතු, පොතු ටික රකිමින් ඒවා දියුණු කිරීම සාසනාරක්ෂාව කියල කළාට සැබෑ සාසනය, සැබෑ සාසනාරක්ෂාව, සාසන දියුණුව මේවායින් සිද්ධ වෙනවද කියන එක ප්‍රශ්නාර්ථයක්.

බුදුන් වහන්සේගේ නිවන් මග තමයි බුද්ධ සාසනය. නිවන් මග වැඩිය යුත්තේ තම තමන් විසින්මයි.ආර්ය මාර්ගය වඩමින් සිත කෙළෙසුන්ගෙන් ආරක්ෂා කිරීම තමයි සැබෑ සාසනාරක්ෂණය. ධ්‍යාන මගඵල ආදියට පත් වීම තමයි නියම සාසන දියුණුව. එයින් පරිබාහිර සාසනාරක්ෂාවක් හෝ සාසන දියුණුවක් හෝ නෑ.

වසර දහසකටත් අධික කාලයක් තිස්සේ සාසනයේ පසුබෑමක් ඇති වෙලා තිබුනත්, වර්තමානයේ නැවතත් සසුන බැබලෙන පෙර නිමිති මතුවෙමින් තියෙනවා. **ධ්‍යාන මාර්ගඵල මේ කාලෙ ලබන්න බෑ කියල හීනයක් වෙලා තිබුන කාරණය දැන් සැබෑ වෙිගෙන එනවා.** උතුම් නිර්මල ශ්‍රී සද්ධර්මය මතුවෙමින් ධ්‍යාන මගඵල ලාභී උතුමන් බිහි වෙමින් බුද්ධ සාසනය ජීවමාන වෙමින් තියෙනවා. ක්‍රි.ව. 2500 - 3000 වෙනකල් විමුක්ති යුගය හැටියට අටුවාවල පෙන්වා තියෙන කාරණය සත්‍යයක් බව ඔප්පු වෙනවා.

"සම්බාධෝ යං සරාවාසෝ රජාපථෝ" ගිහි ගෙය ආර්ය මාර්ගය වැඩීමට බොහෝ සම්බාධක තැනක්, කෙළෙස් වැඩෙන මාර්ගයක්. "දුරාවාසා සරා දුකා" ගිහි ගෙයි වාසය මහ දුක් ගොඩක්. මේ කාරණය දැනගත්ත කෙනා, සම්පූර්ණයෙන් පිරිසිදුව නිවන් මග වඩන්න ගිහි ගෙදරදි බැරි බව දැනගෙන කෙස් රැවුල් බාල අභ්‍යවකාසය බඳු (අබ්භෝකාසෝ පබ්බජ්ජා) සාසනික පැවිද්දට පත් වෙනවා.




මේ විදිහට පැවිදි වෙන කෙනාගෙ ප්‍රධාන බලාපොරොත්තුව, සියලු දුක් කෙළවර කරල නිර්වාණාවබෝධය ලබා ගැනීම. මහණකම ලබාගන්නකොට විමුක්තිය පසක් කර ගන්න පොරොන්දු වුනා නම් ඒක කඩ නොකර කටයුතු කරන්න ඕන. **වර්තමානයේ සාසනය තුළ කරන ලොකුම බොරුව තමයි, සබ්බ දුක්ඛ නිස්සරණ... ආදී වශයෙන් කියල පැවිදි වෙලා සබ්බ දුක්ඛම රැස් කිරීම.**

සාසනයේ පැවිදි වෙච්ච කෙනාට විමුක්තිය පසක් කිරීමේ කටයුත්ත සහ පැවිදි කිසට අයිති අත්‍යවශ්‍ය කාරණා හැර, වෙනත් හොඳයි කියල සම්මත ලෞකික දේවල් කරමින් ප්‍රධාන කාරණය නොකර පරිබාහිර දේවල්වලට කාලය කා දැමීම මාර තොණ්ඩුවට හසුවීමක්.

**නීතිය හදාරල නීතිඥයෙක් වෙච්ච කෙනා නීති වෘත්තියේ යෙදෙනවා. වෛද්‍ය විද්‍යාව ඉගෙන ගත් වෛද්‍යවරයා ඔහුට අයිති රාජකාරිය කරනවා. ගොවියා ගොවි තැනත්, වඩුවා වඩු වැඩත් කරනවා.** **මේ සියලු දෙනා තමන්ට අයිති කාර්ය කරන නමුත්, වර්තමාන පැවිද්දා තමන්ට අයිති උත්තම කාර්ය අතහැරල අනිත් සියල්ලම කරමින් ශ්‍රමණ ඵලය නොලබාම අපාගත වෙනවා.**

වර්තමානයේ පැවිදි වෙන වාක්‍යයෙන්, නිවන් දකින්න පැවිද්ද ලබල දෙන්න කියල පොරොන්දු වෙලා මුඛ්‍ය පරමාර්ථය අත් හැරල පරිබාහිර කටයුතු කරමින් නිදහස් පැවිද්ද බොහෝ කාර්ය බහුල ජීවිතයක් බවට පත් කරගෙන තියෙනවා. මේ අනුව පැවිද්ද පටන් ගන්න තැනම බොරු පොරොන්දුවකින් ආරම්භ කරන බව පැහැදිලියි. එදා ජීවමාන බුදු හිමියන් ළඟ, අපට බොහෝ කටයුතු තියෙනව කියල (බහු කිච්චා මයං බහු කරණීයානි) ප්‍රකාශ කළේ ගිහියන්. භික්ෂුව "අප්පකිච්ච" හෙවත් කටයුතු අඩු කෙනෙක්. ඔහුට තියෙන්නෙ මහණකමට අයිති නිර්වාණගාමී ප්‍රතිපදාවට අදාළ සාසනානුලෝමික කටයුතු විතරයි.

**වර්තමානයේ පැවිදි වෙන වාක්‍යය ඒ දවසට පමණක් ප්‍රකාශ කරන ප්‍රලාපයක් බවට පත්වෙලා තියෙනවා. ඒ නිසා බොරු පොරොන්දු දෙනවට වඩා අදට ගැලපෙන විදිහට පැවිද්ද ඉල්ලන වාක්‍යය වෙනස් කර ගත්ත නම්, බොරු පොරොන්දුවලින් එන පාපයට හසුවෙන්නෙත් නෑ.**

මම පැවිදි වෙන්නෙ පිරිවෙන්, විශ්ව විද්‍යාලවල ගිහින් උපාධි ගන්න, (භික්ෂූන්ට බාහිර සාස්ත්‍ර ඉගෙනීම, ඉගැන්වීම ☞

දෙකම තහනම් - න භික්ඛවේ ලෝකායතං පරියාපුනිතබ්බං, න භික්ඛවේ ලෝකායතං වාචේතබ්බං...) දායකයින්ගේ කුදු මහත් කටයුතු කරල දෙන්න, ගොඩනැගිලි ඉදි කරමින් කම්මාරාමතාවේ යෙදෙන්න, රජයෙන් වැටුප් ගන්නා රස්සාවල් කරන්න, උද්ඝෝෂණ, විරෝධතා පා ගමන්, පිකටින් කරන්න, පංචකාම සම්පත් අග්‍ර ලෙස විඳින්න, දේශපාලනය කරන්න, ඡන්දයෙන් පාර්ලිමේන්තුවට යන්න... මේ ආදී වශයෙන් පොරොන්දු වන ක්‍රමයට පැවිද්ද ඉල්ලන වාක්‍යය හදා ගත්ත නම් ඒක සත්‍යවාදී පොරොන්දුවක් වෙනව වගේම බොරු පොරොන්දු දීමේ අවැඩට හසුවෙන්නෙත් නෑ.

වර්තමානයේ පැවිද්දේ පරමාර්ථ ඉහත කරුණු වුනත්, තථාගතයන් වහන්සේ භික්ෂුවගෙන් බලාපොරොත්තු වුනේ, දේශනා කළේ මොකක්ද? "යේහි කේචි භික්ඛවේ අතීත මද්ධානං කුල පුත්තා සම්මා අගාරස්මා අනගාරියං පබ්බජන්ති සබ්බේ තේ චතුන්නං අරිය සච්චං යථා භූතං අභිසමාය". මහණෙනි, අතීතයේ යම් කුල පුත්‍රයෙක් ගිහි ගෙදරින් නික්මිලා සාසනයේ පැවිදි වුනා නම් ඒ සියල්ලෝම පැවිදි වුනේ සිවුසස් දහම් අවබෝධ කිරීමටමයි. "යේහි කේචි භික්ඛවේ අනාගත මද්ධානං..." අනාගතයේ යම් කෙනෙක් පැවිදි වන්නේ නම් පැවිදි වන්නේ චතුරාර්ය සත්‍යය අවබෝධ කිරීමටයි. "යේහි කේචි භික්ඛවේ ඒතරහි කුලපුත්තා..." වර්තමානයේ යම් කෙනෙක් පැවිදි වෙනව නම් පැවිදි වෙන්න ඕන නිවන් අවබෝධ කර ගැනීමේ පරමාර්ථයෙන්මයි. පැවිදි වීමේ ඉලක්කය මොකක්ද කියල මේ බුදු වදනෙන් මැනවින් දේශනා කරල තියෙනවා.

දීඝ නිකායේ මහා පරිනිබ්බාණ සූත්‍රයේ අපරිහානි ධර්ම කාණ්ඩ 7 ක් දේශනා කරල තියෙනවා. එයින් හයක්ම භික්ෂූන් සඳහා දේශනා කරල තියෙන්නෙ. එක කාණ්ඩයක් වජ්ජීන්ට දේශනා කරල තියෙනවා.

භික්ෂූන් යම් තාක් කල් කම්මාරාමතා, භස්සාරාමතා, නිද්දාරාමතා, සංසනිකාරාමතාවල යෙදෙන්නෙ නැත්ද, පව් අදහස් ඇතිව ඒවාට යට වෙලා පාප මිත්‍රයන් ඇතිව පාප මිතුරන්ට බැඳිල නැමිල වාසය කරන්නෙ නැත්ද, යන්තම් ගුණයක් ලබල එයින් සෑහීමකට පත් වෙලා වාසය කරන්නෙ නැත්ද, ඒක භික්ෂුවගේ අභිවෘද්ධියට මිසක් පිරිහීමට හේතු වෙන්නෙ නෑ.

ඒ වගේම භික්ෂූන් තුනුරුවන් කෙරෙහි සද්ධා ඇතිව, නොහොබිනාකම් ගැන ලැජ්ජා ඇතිව, බිය ඇතිව, ධර්ම විනය දැනගෙන හිත කය දෙකෙන් දැඩි වීර්ය ඇතිව සිහියෙන් හා නුවණින් වාසය කරනවද, ඒ තාක් භික්ෂුවට අභිවෘද්ධියක් මිස පිරිහීමක් වෙන්නෙ නෑ.

ඒ වගේම තවත් අපරිහානි ධර්ම විදිහට සත්ත බොජ්ඣංග වැඩීම දක්වල තියෙනවා. අනිච්ච සංඥා, අනත්ත සංඥා, අසුභ සංඥා, ආදීනව සංඥා, පහාණ සංඥා, විරාග සංඥා, නිරෝධ සංඥා වඩනව නම් අභිවෘද්ධියක් මිස පිරිහීමක් සිදු නොවන බව දේශනා කරල තියෙනවා. මේ හැම කරුණකින්ම පෙන්වල තියෙන්නෙ පැවිද්දාගේ නිබ්බානගාමී ප්‍රතිපදාව.

අංගුත්තර නිකායේ 5 වන කාණ්ඩයේ එන සේඛ පරිහානි සූත්‍රයේ, පිරිහීමට හේතුවන කාරණා 8 ක් පෙන්වල තියෙනවා. සෝතාපන්න මාර්ගයේ පටන් අරිහත් මාර්ගය දක්වා ඉන්න ආර්ය පුද්ගලයන් හත් දෙනා සේඛ හෙවත් හික්මෙන පුද්ගලයන් විදිහට හඳුන්වනවා. කම්මාරාමතා, භස්සාරාමතා, නිද්දාරාමතා, සංඝණිකාරාමතා, ඉන්ද්‍රියේසු අගුත්තද්වාරතා, භෝජනයේ අමත්තඤ්ඤුතා, සංසග්ගරාමතා, පපඤ්චරාමතා... කියන්නෙ පරිහානියට හේතුවෙන කාරණා අට.

කම්මාරාමතා කියන්නෙ නව කර්මාන්තවල යෙදීම. ගොඩනැගිලි හදමින් අසීමාන්තිකව මේ කටයුතුවල යෙදීම භික්ෂුවගේ කාර්යක් නෙවෙයි. බුද්ධ කාලයේ වගේම ඊට පස්සෙත් රජ, සිටු, මැති, ඇමති... ආදීන් වෙහෙර විහාර හදල සංඝයාට පූජා කෙරුව මිසක් භික්ෂූන් වහන්සේලා ඒවට කාලය කා දමමින් තමන්ගෙ විමුක්ති මාර්ගයට බාධා කර ගත්තෙ නෑ. අද පන්සල් ගත්තත්, ආරණ්‍ය ගත්තත් භික්ෂුවගෙ මුළු ජීවිත කාලයම ගෙවන්නෙ කම්මාරාමතාවලට. ඒක මගඵල ලාභීන්ට පවා පරිහානියට හේතුවෙන කාරණයක් බව සේඛ පරිහානි සූත්‍රයේ සඳහන් වෙනවා. (සේඛස්ස භික්ඛුණෝ පරිහානාය සංවත්තති)

සෝතාපන්න කෙනෙකුට සකදාගාමී වෙන්න, සකදාගාමී කෙනෙකුට අනාගාමී වෙන්න, අනාගාමී කෙනෙකුට රහත් වෙන්න මේ නව කර්මාන්තවල යෙදීම් ආදිය බාධා වෙනවා. සේඛ භික්ෂූන් පිරිහෙනව කිව්වෙ, තියෙන මගඵලවලින් පිරිහීම නෙවෙයි, ඉදිරි මගඵල ලබන්න ඒක බාධා වෙනව කියන එක.

භස්සාරාමතා කියන්නෙ, විහිළු තහළු කියමින් කොක් හඬලා හිනා වෙමින් දෙතිස් කතාවල යෙදෙමින් කාලය ගෙවීම. වර්තමානයේ භික්ෂූන් රැස් වුනාම වැඩිපුරම කරන්නෙ භස්සාරාමතා "සන්නිපතිතානං වෝ භික්ඛවේ ද්වයං කරණීයං ධම්මීවා කතා අරියෝ වා තුණ්හීබාවෝ" මහණෙනි, ඔබලා රැස් වුනාම දෙකක් කරන්න, ධර්ම සාකච්ඡා කිරීම හෝ ආර්ය තුෂ්නීම්භාවයෙන් සිටීම.

අල්පේච්ඡතාවය පිළිබඳ කතා (අප්පිච්ච කතා), සන්තුට්ඨි හෙවත් ලද දෙයින් සතුටු වීම පිළිබඳ කතා (සන්තුට්ඨි කතා), කාය විවේක චිත්ත විවේක උපධි විවේක පිළිබඳ කතා (පවිවේක කතා), එකට එකතු වෙලා සන සංගනිකාරාමතාවයෙන් තොරව සිටීම පිළිබඳ කතා (අසංසග්ග කතා), ආර්ය මාර්ගය වැඩීමට වීර්ය කිරීම පිළිබඳ කතා (විරියාරම්බ කතා), සීලය, සමාධිය, ප්‍රඥාව පිළිබඳව, විමුක්තිය හා විමුක්ති ඥාණ දර්ශනය පිළිබඳව කතා (සීල කතා, සමාධි කතා, පඤ්ඤා කතා, විමුත්ති කතා, විමුත්ති ඤාණ දස්සන කතා) මේ වගේ නිවනට උපනිශ්‍රය වන කතා හැර ඉන් පරිබාහිර ප්‍රලාඵ කතා භික්ෂූන්ට ගැලපෙන්නෙ නෑ. වර්තමානයේ මේ සියලුම තහනම් කතා, කතා කරන අතර කතා කළ යුතු දේ සිද්ධ වෙන්නෙ නැති තරම්. සාසන පරිහානියේ තරම කොච්චරද කියන එක මෙයින් පැහැදිලි වෙනවා.

බුදුන් වහන්සේ රාත්‍රී කාලයක හමුවෙන්න ගිය අවස්ථාවක, තථාගතයන් වහන්සේ ඇතුළු භික්ෂූන් වහන්සේලා 1,200 ක් පමණ එකම ස්ථානයක වැඩ සිටිමින් කිව්සුම් හඬක්වත් නැතිව ඉන්නව දැකපු අජාසත්ත රජතුමා පුදුමයටත්, බියටත් පත් වුන බව සඳහන් වෙනවා. ප්‍රතිපත්තිකාමී ගුණගරුක භික්ෂූන්ගේ වචනය තුළ කොච්චර නම් සංවරකමක් තිබුනද කියන එකයි මේ කාරණයෙන් ඔප්පු වෙන්නෙ. වර්තමානයේ දෙතුන් නමක් එකතු වුනාම සිද්ධ වෙන තත්ත්වය මොකක්ද කියල අමුතුවෙන් කියන්න ඕන නෑ. ☞

නිද්දාරාමතා හෙවත් අධිකව නිදා ගැනීමත් පුද්ගලයාගේ පරිහානියට හේතුවෙන කාරණයක් බව පරාභව සූත්‍රයේ සඳහන් වෙනවා. "නිද්දාසීලි සභාසීලි" අධිකව නිදාගැනීම හා බොහෝ කොට කතා කරමින් කාලය කා දැමීම පිරිහීමේ දොරටු ලෙස සඳහන් කරල තියෙනවා "උට්ඨහථ නිසීදථ කෝ අත්ථෝ සුපිනේන වෝ" අවදිවන්න, භාවනාවට වාඩිවෙන්න, මහණෙනි ඔබලාට නිදීමෙන් ඇති ඵලය මොකක්ද කියල තථාගතයන් වහන්සේ වදාරනවා. භික්ෂුව අරුණට පළමුව අවදිවෙලා භාවනාදී කටයුතු කළ යුතුයි. එහෙම නැතිව ඉර පායන කල් නිදා ගැනීම ගිහියෙකුට නමුත් පරාභවයක්.

අනුසාසනා කරල අවසානයට මෙහෙම වදාරනවා. "ඒතානි භික්ඛවේ රුක්ඛමූලානි, ඒතානි සුඤ්ඤාගාරානි ඣායේථ මා පමාදත්ථ, මා පච්ඡා විප්පටිසාරිනෝ අහුවත්ථ, අයං වෝ අම්හාකං අනුසාසනී" මහණෙනි, මෙන්න ගස් මුල්, මෙන්න සුන්‍යාගාර, මේ වගේ නිදහස් තැන්වලට යන්න, කෙලෙස් තවන වීර්යෙන් අප්‍රමාදී වෙන්න. පස්සෙ මට කළ යුතු දේ කරන්න බැරි වුනා කියල පසුතැවෙන්න එපා. මහණෙනි, මගේ අනුසාසනය මේකයි.

සියලු භික්ෂූන් මැනවින් සිතා බැලිය යුතු වටිනා උපදේශයක් තමයි මේ. අද භික්ෂූන්ට නොතේරෙනම කාරණයත් මේකමයි.



සේඛ භික්ෂුවගේ පිරිහීමට හේතුවෙන සිවුවෙනි කරුණ විදිහට දක්වල තියෙන්නෙ සංඝනිකාරාමතාව. පිරිස් සමග එකට එකතු වෙලා පවිවේකය අතහැරල නොයෙක් කටයුතු කරමින් අනවශ්‍ය කතාවල යෙදෙමින් කාලය ගෙවා දැමීම මෙයින් අදහස් කරනවා. ඉන්ද්‍රිය අසංවරය, භෝජනයේ පමණ නොදැනීම, පුද්ගලයන් සමග අනවශ්‍ය ආකාරයට සම්බන්ධතා පැවැත්වීම, තණ්හා දිට්ඨි මාන යන ප්‍රපංචවලින් යුක්ත වීම... කියන මේ කාරණා අට මගඵල ලාභීන්ගේ පිරිහීමට හේතු වෙන කරුණු. මේ කරුණුවලින් අධිගමලාභීනුත් පිරිහෙනව නම් අනිත් අය ගැන කවර කතාද?

තථාගතයන් වහන්සේ භික්ෂූන්ට නිවන් අවබෝධයට අවශ්‍ය

මම විහාරෝ පරිවේනං උපට්ඨාකා තිස්සෝ සංසෝවා බන්ධෝ වා න හෝති, සෝජියා මුත්තෝ සරෝ විය, යුතා අපක්කන්තෝ මත්ත හත්ථී විය ඒකෝ තිට්ඨති, ඒකෝ නිසීදති, ඒකෝ අදුතියං

**මගේ විහාරය, මගේ පිරිවෙන, මගේ දායකයෝ කියල බැඳීමක් භික්ෂුවට නෑ. දුන්නෙන් විදපු ඊතලයක් වගේ රැලෙන් වෙන් වුන පාරිලෙය්‍ය ඇතා වගේ තනියෙන් ඉන්න තනියෙන් නිදන දෙවැන්නෙක් නැති ජීවිතය පැවිද්ද විදිහට තථාගතයන් වහන්සේ දේශනා කළා.** මේ බුදු වදන මෙහෙම වුනත් අද තත්ත්වය කොච්චර නම් සෝචනීයද? මගේ පන්සල, මගේ පිරිවෙන කියල ඒවා අයිති කරගන්න නඩුහබ පවා කියන තත්ත්වයට පිරිහිලා තියෙනවා.

මගේ දායක පිරිස කියල අල්ලගෙන ඉන්නකොට, වෙන ආරාමයක භික්ෂුවක් ඒ දායකයෙක්ගෙ ආගමික වැඩක් කළොත්, නැත්නම් තවත් ආරාමයකට උදව් උපකාර කළොත් ඒවාට ඇන කොටාගන්න, නින්දා අපහාස කරන්න, ඕවට දානෙ දෙන්න එපා, එහෙම කළොත් ආගමික වැඩවලට අපි එන්නෙ නෑ... ආදී වශයෙන් මහා දාහයකට පත්වෙලා ද්වේශයෙන්, වෛරයෙන් පුපුරමින් කටයුතු කරනවා.

භික්ෂුව කිසිම අයිතිවාසිකමක් බලාපොරොත්තු නොවී, දුන්නෙන් මිදී ගිය ඊතලයක් වගේ හුදෙකලාව හෝ ගැලපෙන සබ්‍රහ්මචාරීන් වහන්සේලා සමග හෝ හිස ගිනි ගත්තෙක් ඒ ගිනි නිවන්න වෑයම් කරනව වගේ සසරින් මිදෙන්න කටයුතු කරන්න ඕන.

විවේකකාමී ජීවිතය භික්ෂුවට විමුක්තිය සාක්ෂාත් කර ගන්න අත්‍යවශ්‍යයි. "විවේක කාමේ සම්බුද්ධේ" බුදුවරු පවා විවේකයට කැමතියි. තථාගතයන් වහන්සේ අඩ මසක්, මාසයක්, තුන් මසක්... ආදී වශයෙන් විවේක සුවයෙන් වැඩ සිටිමින් කාලය ගත කරල තියෙන බව බුද්ධ චරිතය දෙස බලනකොට පේනවා.

රහතන් වහන්සේලා පවා සමාපත්තිවලට සම වදිමින් විවේකව ඉන්න ප්‍රිය කරනවා. ඒ බව පහත බුදු වදනින් සනාථ වෙනවා.

රමණීයානි අරඤ්ඤානි
යත්ථ න රමතී ජනෝ
වීතරාගා රමෙස්සන්ති
නතේ කාම ගවේසිනෝ
(ධම්ම පදය)

රමණීය ආරණ්‍ය ලෝකයේ තිබුනට කාම භෝගී සාමාන්‍ය ජනයා ඒවා මහා පාලු තැන් විදිහට සළකල තනියම ඉන්නෙ කොහොමද කියල, ඒවාට කැමැත්තක් දක්වන්නෙ නෑ.

නමුත් කාමයන් හොයන්නෙ නැති වීතරාගී උතුමන් ඒ වගේ සිත්කළු ආරණ්‍යවල සමාපත්ති සම වදිමින් වාසය කරන්න හරිම කැමතියි. "යත්ථ අරහන්තෝ විහරන්ති තං භූමිං රාමණෙය්‍යකං" අරිහතුන් වහන්සේලා වැඩ සිටින ඒ වගේ භූමිත් රමණීය වෙනවා.

ඒකස්ස චරිතං සෙයොා
නත්ථි බාලේ සහයතා
ඒකෝ චරේ නච පාපානි කයිරා
අප්පස්සුයක්කෝ මාතංග
රඤ්ඤෙව නාගෝ
(ධම්ම පදය)

බාලයන් සමග එකට වාසය කරනවට වඩා හුදෙකලාව හැසිරෙන කෙනාට පාපයන් සිද්ධ වෙන්නෙත් නෑ. රැලෙන් වෙන් වෙච්ච පාරිලෙයා ඇතා වගේ තනියෙන් වාසය කිරීම ඉතා උතුම්.

එකට වාසය කරන්න තමන්ට සුදුසු කලණ මිතුරෙක් නැත්නම් හුදෙකලා වීම උතුම් බව වදාරල තියෙනවා.

යථා ඒකා තථා බ්‍රහ්මා
යථා දේවෝ තථා දුවේ
යථා ගාමෝ තථා තයෝ
කෝලාහලං චතුත්ථරිං

තනියෙන් ඉඳීම බ්‍රහ්මයා වගෙයි. දෙන්නෙක් එකතු වුනොත් දෙවියන් වගෙයි. තුන් දෙනෙක් එකතු වුනාම ගමක්. හතර දෙනෙක් හෝ ඊට වැඩි වුනාම කළකෝලාහල, ප්‍රශ්න ගැටළු... ආදී නොයෙක් දේ ඇති වෙනවා.

සූත්‍ර නිපාතයේ <u>ඛග්ග විසාන සූත්‍රයේ</u> හුදෙකලා වාසයේ අගය පෙන්වල තියෙනවා. ඛග්ග විසාන කියන්නෙ කඟවේනගෙ අඟට. ඌට තියෙන්නෙ එක අඟයි. හුදෙකලාව උපමා කරල තියෙන්නෙ කඟවේනගෙ අඟකට.

කාය විවේකයත්, චිත්ත විවේකයත් අත හරින්නෙ නැතිව නිතර ධර්මානු ධර්ම ප්‍රතිපදාවේ යෙදෙමින් භවයේ ආදීනව දකිමින් කඟවේන අඟක් වගේ ඒකචාරී වෙන්න. රාගයත්, ද්වේශයත්, මෝහයත් නැති කරල සංයෝජන ධර්මයන් ප්‍රහීන කරල බිය නොවී කඟවේන අඟක් වගේ තනිව වාසය කරන්න. දෙවැන්නෙක් සමග වාසය කරනකොට වචන හුවමාරුව නිසා ඇලීම් ගැටීම් ඇති වෙනවා. මතුවට මේ බිය දකිමින් කඟවේන අඟක් වගේ හුදෙකලාව හැසිරෙන්න උත්සාහ කරන්න.

සංසනිකාරාමතාව ඇති කෙනාට රූප අරූප ආර්ය ධ්‍යාන වඩන්න පුළුවන්කමක් නෑ. මේ බව දැනගෙන කඟවේන අඟක් වගේ හුදෙකලාව වාසය කරන්න. මේ විදිහට හුදෙකලා ජීවිතයේ අගය <u>ඛග්ග විසාන සූත්‍රයේ</u> ලස්සනට දේශනා කරල තියෙනවා.

බවුන් වඩන භික්ෂුවට හුදෙකලා දිවිය මහත් ප්‍රයෝජනවත්. හැබැයි කෙනෙක් මහණ වෙච්ච ගමන් හුදෙකලා වෙන්න හොඳ නෑ. කළ්‍යාණ මිත්‍ර ඇසුරෙන් ධර්ම විනයෙන් දැනුවත් වෙලා තනිව කටයුතු කිරීමට සුදුසු අයයි ඒකචාරී ජීවිත ගත කළ යුත්තෙ. නැත්නම් කළ්‍යාණ මිත්‍ර ඇසුරේ ගත කිරීම සෝතාපන්නයාට සකදාගාමී වෙන්න උපකාර වෙනවා. සකදාගාමී කෙනාට අනාගාමී වෙන්නත්, අනාගාමී කෙනාට රහත් වෙන්නත් සත්පුරිස සේවනය උදව් වෙන බව සූත්‍ර දේශනාවල සඳහන් වෙනවා. **සෝතාපන්න වෙච්ච තැන් පටන් පර ප්‍රත්‍ය රහිත වුනාට සත්පුරිස ඇසුර සහ සත් ධර්ම ශ්‍රවණය මහෝපකාරී වෙනවා.** අනුරුද්ධ හාමුදුරුවන්ට අරිහත් ඵලය පූර්ණ වුනේ සැරියුත් හාමුදුරුවන්ගෙන් ලැබුණු අවවාද අනුසාසනා නිසා.

භික්ෂුව බවුන් වඩන ආරණ්‍යයේ ස්වභාවය කෙසේ තිබිය යුතුද කියල ආටානාටිය සූත්‍රයේ මේ විදිහට විස්තර වෙනවා. "අප්ප සද්දානි අප්ප නිග්ඝෝෂානි විජනවාතානි මනුස්සරාහසෙය්‍යකානි පටිසල්ලාන සාරුප්පානි"

සද්ද කෝලාහල අඩු, ඝෝෂාවල් නැති, මිනිස්සු ගැවෙසන්නෙ නැති, මිනිස්සුන්ට රහසිගත දේවල් පවා කළ හැකි ජන ශූන්‍ය තැනක භික්ෂුව ආර්ය මාර්ගය වැඩිය යුතු බවයි බුද්ධ දේශනාවේ සඳහන් වෙන්නෙ. නමුත් වර්තමාන ආරණ්‍ය කියන තැන් ජනාකීර්ණ තැන් බවට පත් කරගෙන කාර්ය බහුල තැන් වෙලා තියෙනවා.

බුද්ධ සාසනය තුල මාර බලවේග විවිධාකාරයෙන් ක්‍රියාත්මක වෙනවා. භික්ෂුව නිවන් මගෙන් ඈත් කරල යහපත් යැයි කියන සම්මත දේවල්වලට යොමු කරල විමුක්ති මාර්ගයෙන් ඉවත් කරන මාර බලවේග ක්‍රියාත්මක වෙනවා. බෝධි සත්ත්වයන් වහන්සේත් බුදු වෙන්න දුෂ්කර ක්‍රියා කරනකොට, ඔය තරම් දුක් විඳින්නෙ නැතිව පිං දහම් කරගෙන ඉන්න කියල වසවත් මරු කියා සිටියා. අල්පමාත්‍ර පිනකින් මට ඇති වැඩක් නෑ, පිං කරන්න ඕන අයට ඔය කාරණය ගිහින් කියන්න කියල බෝසතාණන් වහන්සේ මාරයාට දැනුම් දුන්නට පස්සෙ මාරයා යන්න ගිය බවත් සඳහන් වෙනවා.

තරුණ වයසේ පැවිදි වෙච්ච භික්ෂූන්ට භික්ෂුනීන්ට මාරයා ඒ වගේ බාල යෝජනා කරපු අවස්ථා බණ පොත්වල සඳහන් වෙනවා. භික්ෂුවක් තමන්ගෙ විමුක්තිය සලසා ගන්න පෙර, කුමන අංශයකින් හෝ මහජනයා අතර ප්‍රසිද්ධ වුනොත් තමන්ටවත් තේරුම් ගන්න බැරිව ලාභ කීර්ති ප්‍රසංසාවලට යටවෙලා විනාසය කරා යන්න තියෙන ඉඩකඩ වැඩියි. මහණෙනි, ලාභ කීර්ති ප්‍රසංසා දරුණුය, කටුකය, නිවනට අන්තරාකරය කියල වදාළේ මේවායේ තියෙන අනතුර නිසාමයි.

"බුද්ධෝ සෝ භගවා බෝධාය ධම්මං දේසෙති" තමා සිවුසස් අවබෝධ කරගෙන අන්‍යයන්ට අවබෝධය ලැබීම පිණිස දහම් දේශනා කළා. "තිණ්ණෝ සෝ භගවා තරණාය ධම්මං දේසෙති" තමා සසරින් එතෙර වෙලා ලෝක සත්ත්වයාටත් එතෙර වෙන්න දහම් දේශනා කළා. "සන්තෝ සෝ භගවා සමථාය ධම්මං දේසෙති" තමන් කෙළෙස් සමථයකට පත් කරගෙන අන්‍යයන්ට කෙළෙස් ප්‍රහාණය සඳහා දහම් දේශනා කළා. "පරිනිබ්බුතෝ සෝ භගවා පරිනිබ්බාණාය ධම්මං දේසෙති" ක්ලේශ පරිනිර්වාණයට පත් තථාගතයන් වහන්සේ ක්ලේශ පරිනිර්වාණය පිණිස දහම් දේශනා කළා.

තථාගතයන් වහන්සේත් අවබෝධය පූර්ණ වන තුරු පරාර්ථය සිදු කරල නැති බව මෙයින් පැහැදිලි වෙනවා. උන්වහන්සේ බුද්ධත්වයෙන් පසු පස්වග මහණුන්ට, යසකුල පුත්‍රයා ඇතුලු යාළුවන් පනස් හතර දෙනාට දහම් දේශනා කරල සාසනයේ පැවිදි වෙලා අරිහත් වුනාට පස්සෙ "චරථ භික්ඛවේ චාරිකං..." ආදී ලෙස චාරිකාවේ පිටත්කොට දෙව් මිනිසුන්ට හිත සුව පිණිස, මුල යහපත් මැද යහපත් අග යහපත් අර්ථ සහිත ව්‍යඤ්ජන සහිත ධර්මය දේශනා කරන්න කිව්ව මිසක් අනාගාමී, සකදාගාමී මගඵල ලාභියෙක්වත් ධර්ම දේශනා කරන්න කියල පිටත් කරල නෑ. ආනන්ද හාමුදුරුවෝ ධර්ම භාණ්ඩාගාරික නිසා දහම් දෙසපු අවස්ථා තිබුනත්, සාමාන්‍ය භික්ෂූන් තමන්ගෙ විමුක්තිය සලසා ගන්න වෑයම් කළා මිසක් ☞

අද වගේ පෘතජ්ජන භූමියේ ඉඳගෙන ධර්ම කථිකයො වෙන්න උත්සාහ කළේ නෑ.

ධර්මයක් යන්තම්වත් කතා **කරන්න සුදුසුකම තමයි සෝතාපන්න වීම. එහෙම නැතිව ධර්මය කතා කරන්න යනවනම්, ඒකට කියන්න තියෙන්නෙ වැදි බණ කියල. ඒ වගේ බණවලින් ලෝකයාට ධර්මාවබෝධයක් වෙන්න, ධ්‍යාන මාර්ගඵල ලබන්න පරිසරයක් ගොඩ නැගෙන්නෙ නෑ. ලංකාවෙ තරම් බණ කියන රටක් ලෝකෙ කොහේවත් නෑ. නමුත් ඒ බණවලින් රටවැසියාට ලැබිල තියෙන යහපත මොකක්ද? පෘතජ්ජන භූමියේ ඉඳගෙන කට පාඩම් කරගෙන බණ දේශනා කරල තව කෙනෙකුට ධර්මාවබෝධය ලැබෙන්නෙ නෑ. ආර්ය භූමියකට පත් වෙච්ච කෙනෙක්ගෙන්ම බණ අහලයි තව කෙනෙකුට ධර්මාවබෝධය ලැබෙන්නෙ. ඒ වගේ ආර්ය පරපුර නැති වුනාට පස්සෙ මගඵල හීනයක් බවට පත්වෙනවා. මෙතෙක් නාමික බෞද්ධ සමාජයේ අධිගම ලාභීන් නැතිවෙන්න හේතුව ඒකයි.**

"අත්ත හිතායච පටිපන්නෝ" පළමුව තමාට හිත පිණිස කටයුතු කරගන්න ඕන. ඊළඟටයි පරහිතායච පටිපන්න හෙවත් පරාර්ථ සේවය කරන්න පුළුවන් වෙන්නෙ. එහෙම නැති වුනොත්, අත්ත හිතායච පරහිතායච දෙකම නැතිවෙනවා.

බොහෝ පරාර්ථයන් සඳහා කියල ආත්මාර්ථයට පාඩු සිදු කරගන්නෙ නැතිව, සදත්ථ හෙවත් සත් අර්ථය නම් වූ අරිහත් ඵලය සඳහා වෑයම් කළ යුතු බව අත්ථදත්ථ නම් භික්ෂුවට වදාළ පහත ධම්ම පද දේශනාවෙන් සනාථ වෙනවා.

අත්ථ දත්ථං පරත්ථේන<br>
බහු නාපි න හාපයේ<br>
අත්ථ දත්ථ මභිඤ්ඤාය<br>
සදත්ථ පසුතෝ සියා

(ධම්ම පද සූත්ත වග්ගය)

තථාගතයන් වහන්සේ, මම තව හාර මාසයකින් පිරිනිවන් පාන බව ප්‍රකාශ කළාම ඒක බොහෝ භික්ෂූන්ට දරා ගන්න බැරි වුනා. සාමාන්‍ය භික්ෂූන් දුක් දොම්නස් වෙමින් කඳුළු වගුරුවමින් එක්රැස් වෙලා, අහෝ බුදුරජුන් පිරිනිවන් පානවා, අපි මොකද කරන්නෙ කියල බොහොම ලෙන්ගතුව කතා කරනවා. ධර්මාරාම කියන භික්ෂුව, අහෝ මම තවම අරිහත්වයට පත් වුනේ නෑ, මම බුදුරජුන් ජීවත්ව ඉඳෙද්දිම රහත් වෙන්න ඕන කියල පැත්තකට ගිහින් උත්සාහ වීර්ය කළා. අනිත් භික්ෂූන්, ඇවැත්නි ඔබ මොකද මේ කරන්නෙ, බුදුහාමුදුරුවො ගැන ස්නේහයක් නැත්ද කියල ඇහුවත් උන්වහන්සේ නිහඬව හිටියා. මේ කරුණ තථාගතයන් වහන්සේටත් දැන්නුවා. බුදු හිමි ධම්මාරාම භික්ෂුවගේ අදහස දැනගෙන හිටියත්, පිරිස ඉදිරියේ ඒ කාරණය ප්‍රකාශ කරන්න ඕන නෑ කියල ඒ භික්ෂුවට එන්න කියල, එහෙම හුදෙකලාව හිටියෙ ඇයි කියල ඇහුවා.

මම ඔබ වහන්සේ ජීවත්ව ඉඳෙද්දිම නිවන් අවබෝධ කරගන්න වෑයම් කළ බව කිව්වම, ඒකට ප්‍රසංසා කරල "මයි ස්නේහවන්තේන භික්ඛුනා ධම්මාරාම සදිසේනේව භවිතබ්බං" මට ආදරය ඇති යම් භික්ෂුවක් ඉන්නව නම්, මේ ධර්මාරාම භික්ෂුව වගේ වෙන්න කියල අනිත් භික්ෂූන්ටත් අවවාදයක් දුන්නා.

සංයුක්ත නිකායේ 5 වන කාණ්ඩයේ එන චේල සූත්‍රයේ, මහණෙනි, හිස හෝ වස්ත්‍රය ගිනිගත් මිනිසෙකු කුමක් කළ යුතුද කියල ඇහුවම ස්වාමීනි, ඔහු හිස හෝ වස්ත්‍රයේ ගිනි නිවා ගන්න ඕන කිව්වා. මහණෙනි, මම මෙහෙම කියනවා, හිස හෝ වස්ත්‍රය ගිනි ගත්තම ඔහු වහ වහා හිස හෝ වස්ත්‍රය නිවා ගැනීම පැත්තකට දාල මෙතෙක් දැක්කෙ නැති සිවුසස් දහම් අවබෝධය සඳහා උත්සාහ කරන්න ඕන කියල වදාළා.

ධුනාථ මච්චුනෝ සේනං<br>
නලාගාරංව කුඤ්ජරෝ<br>
යෝ ඉමස්මිං ධම්ම විනයේ<br>
අප්ප මත්තෝ විහෙස්සති<br>
පහාය ජාති සංසාරං<br>
දුක්ඛස්සන්තං කරිස්සති

හස්ති රාජයෙක්, බට ගෙයක් පොඩි කරන්න වගේ ක්ලේශ මාර සේනාව වනසා දමන්න ඕන. මේ විදිහට යමෙක් ධර්ම විනයෙහි අප්‍රමාදීව වාසය කරනව නම්, ජාති සංඛ්‍යාත සංසාරය පහ කරල දුක් කෙළවර කර ගන්නවා.

තථාගතයන් වහන්සේ පිරිනිවන් මංචකයේ වැඩ ඉන්නකොට ආනන්ද හාමුදුරුවො අහනවා, ස්වාමීනි තථාගත ශරීරය පිළිබඳ අපි කෙසේ පිළිපදින්න ඕනද කියල. "අබ්‍යාවටා තුම්හේ හෝථ ආනන්ද තථාගතස්ස ශරීර පූජා" ආනන්ද ඔබලා තථාගත දේහයට පූජා පැවැත්වීම පිණිස කාලය ගත කරන්න එපා. ඔබලා තමන්ට වැඩ පිණිස උනන්දු වෙන්න. කෙලෙස් තවන වීර්ය ඇතිව නිවනට යොමු කර සිත් ඇතිව වාසය කරන්න. ආනන්දය තථාගතයන් වහන්සේ කෙරෙහි පැහැදුනු නුවණැති ක්ෂත්‍රියෝ, බ්‍රාහ්මණයෝ, ගෘහපතියෝ ඉන්නවා, ඒ අය තථාගත දේහයට පූජා පවත්වයි. උන්වහන්සේ ඒ විදිහටයි වදාළේ.

බුද්ධ ශරීරයේ අවසන් කටයුතු ටික කරන්නවත් භික්ෂූන්ට අවකාසයක් දෙන්නෙ නැතිව, ඒ මොහොතත් ධර්මාවබෝධය කරන්න කටයුතු කරගන්න කියල දේශනා කිරීමෙන් පේන්නෙ, සසරින් මිදෙන්න කොච්චර නම් උත්සාහ වීර්යක් කරන්න ඕනද කියන කාරණය. අවසාන බුද්ධ වචනයෙනුත් දේශනා කළේ, සියලු සංඛාර වැයවෙන සුළුයි අප්‍රමාදීව නිවන් අවබෝධ කරගන්න වෑයම් කරන්න කියල. (හන්දදානි භික්ඛවේ ආමන්තයාමි වෝ වය ධම්මා සංඛාරා, අප්පමාදේන සම්පාදේථ)

මේ දහම් න්‍යායන් නිවැරදිව වටහගෙන වර්තමානයේ කටයුතු කරන්නෙ කීයෙන් කී දෙනාද? ධර්මය හරියට දැන ගත්ත කියන අය පවා, පැවිදි වෙච්ච අය පවා තමන්ගෙ විමුක්තිය පසෙකට දාල ලෝකානුකම්පාව කියන ලේබලයක් ගහගෙන, අනවශ්‍ය වැඩ හදාගෙන සසරින් එතෙර වෙන්න තියෙන ක්ෂණ සම්පත්තිය නැති කර ගැනීම අපරාධයක්. බුදු දහමක් මුණ ගැහිච්ච, මිනිසත් බවක් ලැබිච්ච මේ උතුම් ක්ෂණයෙන් ප්‍රයෝජන ගන්න සියලු දෙනාටම ප්‍රඥා ඇස විවර වේවා, සත්‍යය වැටහේවා, නිවනින් සැනසේවා !

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**<br>
**නිග්‍රෝධාරාම සේනාසනය,**<br>
**පොල්පිටිය - මැටිකුඹුර, පොල්ගහවෙල.**<br>
**0716839346**



# ඔබ තවමත් පෘතජ්ජනයෙක්ද?

**8 වන කොටස**

**ශ්‍රාවක :** වසර සිය ගණනක් තිස්සේ පෘතජ්ජනීකරණය වෙලා අර්ථ යටපත් වෙලා තිබ්ච්ච මේ ශ්‍රී සද්ධර්මය නැවත මතු කරල දීල, බොහෝ පිරිසකට නිවන් දොරටුව විවර කරල දුන්න ඒ අති ශ්‍රේෂ්ඨ යතිවරයාණන් වහන්සේ අපේ ලෝකයෙන් සමු ගත්ත කියල මටත් දැනගන්න ලැබුනා. ඒ උත්තමයාණන් වහන්සේට අපේ ගෞරවනීය පූජෝපහාරය පුද කරමින් අද සාකච්ඡාව ආරම්භ කරමු.

**දේශක :** ඔව්. ඒ අති ශ්‍රේෂ්ඨ වූ සංඝ පීතෘවරයාණන් වහන්සේ එදා ප්‍රාර්ථනා කළ ආකාරයෙන්ම, ඉතා දිගු කාලයක් මුළුල්ලේ අර්ථ සැඟවිලා තිබ්ච්ච ශ්‍රී සද්ධර්මය නැවතත් ශ්‍රාවකයන්ට මග ඵල ලබල නිවන් පූර්ණ කරගන්න පුළුවන් වෙන විදිහට අර්ථ මතු කරල දීල පාරමිතාව පූර්ණ කරල තමයි මේ ලෝක තල තිස් එකෙන්ම සමු ගත්තෙ.

**ශ්‍රාවක :** උන්වහන්සේ ආරම්භ කරපු කළණ වැට ඉදිරියට පවත්වාගෙන යන්න අපි උත්සාහ කරන්න ඕන නේද?

**දේශක :** ඔව්. මේ වෙනකොටත් උන්වහන්සේ පෙන්වා දුන්න මග ඔස්සේ ගමන් කරමින් මේ කළණ වැට ඉදිරියට ගෙන යන ශ්‍රාවකයන් වහන්සේලා බොහෝ පිරිසකුත්, ඒ වගේම උපාසක උපාසිකාවන් බොහෝ පිරිසකුත් ඉන්නවා.

**ශ්‍රාවක :** ත්‍රිපිටකයේ සඳහන් වෙන සූත්‍ර දේශනාවලට අනුකූලව කරුණු ඉදිරිපත් කරමින්, ශ්‍රවණය කරන අයට මාර්ගඵල අවබෝධ කර ගන්න පුළුවන් වෙන විදිහට ඉතා සරලව ගැඹුරු දහම් කොටස් විග්‍රහ කළ උන්වහන්සේගේ දේශනාවලට, සමහරු විරුද්ධ මත ප්‍රකාශ කරල විවේචනය කරලත් තියෙනව කියල මට ආරංචි වුනා.

**දේශක :** ඔව්, එහෙම විවේචන එල්ල වෙච්ච අවස්ථා තියෙනවා. ගොඩක් ඒව පදනම් විරහිතව තමයි කරල තිබුනෙ. උන්වහන්සේ කරල තියෙන දේශනා නිවැරදිව ශ්‍රවණය කරන්නෙ නැතිව, කාගෙ කාගෙන් හරි අහගත්ත කොටසක් අල්ලගෙන කරපු විවේචන තමයි වැඩි හරියක් තිබුනෙ.

**ශ්‍රාවක :** උන්වහන්සේ ඒවට පිළිතුරු දුන්නෙ නැත්ද?

**දේශක :** ප්‍රසිද්ධ පුවත්පත්වල පළ කරල තිබුන සමහර ලිපිවලට නම් උන්වහන්සේ පිළිතුරු යැව්වා. ඒත් සමහර ඒවා ඒ පුවත්පත්වල පළ වුනේවත් නෑ. ගුවන් විදුලියෙන්, රූපවාහිනියෙන් කරපු විවේචනවලට නම් උන්වහන්සේට පිළිතුරු දෙන්න අවස්ථාවක්වත් ලැබුනෙ නෑ.

**ශ්‍රාවක :** ඒ විවේචනවලට පිළිතුරු දෙන්න කවුරුවත්ම ඉදිරිපත් වුනේ නැත්ද?

**දේශක :** පිළිතුරු දිය යුතුම අවස්ථාවක් නම්, පෞද්ගලික විවේචනයකින් හෝ පහර ගැහීමකින් හෝ තොරව ධර්මානුකූලව පැහැදිලි කිරීම් කරපු අවස්ථා ඉතාම කලාතුරකින් තිබුනා. මොකද නැත්නම් පින්වතුන් නොමග යන්න පුළුවන් නිසා. ඒ හැර කාටවත් ඉදිරිපත් වෙන්න උන්වහන්සේ ඉඩ දුන්නෙ නෑ. ඒ විතරක් නෙවෙයි, උන්වහන්සේ අර ත්‍රිපිටකයේ සඳහන් වෙන සටීකාර සහ ජෝතිපාල බෝසතාණන් වහන්සේගෙ කතා වස්තුව ඉදිරිපත් කරල ඒ කාරණය පැහැදිලි කළා.

**එදා කාශ්‍යප බුදු රජාණන් වහන්සේව විවේචනය කළේ ජෝතිපාල නමැති මානවකයා. ඒ කියන්නෙ මතු බුදු වෙන්න පෙරුම් පුරාගෙන හිටපු අපේ සිදුහත් බෝසතාණන් වහන්සේමයි. හැබැයි එදා කවුරුහරි ඒ කාශ්‍යප බුදු රජාණන් වහන්සේව විවේචනය කළා කියල අර ජෝතිපාල මානවකයට මොනවහරි පහර ගැහීමක් කළා නම්, ඒ කරල තියෙන්නෙ මතු බුදු වෙන්න නියමිත බෝසතාණන් වහන්සේ නමකට. එහෙම වුනා නම් ඒ කරපු අය මහා හානියක් කරගන්නවා. ඒ නිසා උන්වහන්සේ නිතරම අවවාද කළේ, නොදන්නකමට කරන විවේචනවලට සැලෙන්නෙ නැතිව තම තමන්ගෙ මග වඩා ගන්න උපරිම වශයෙන් උත්සාහ අරගෙන කටයුතු ඉක්මන් කරගන්න කියල.**

**ශ්‍රාවක :** ඒක නම් ඇත්ත තමයි. උන්වහන්සේ මහා ඥානයකින් කටයුතු කරල අපිව ආරක්ෂා කරල තියෙන බව තමයි පේන්නෙ. ඒත් අපේ සමාජයේ බොහොම උසස් දහම් දැනුමක් සහිත සමහර ගෞරවනීය ස්වාමීන් වහන්සේලාත් උන්වහන්සේව විවේචනය කරපු අවස්ථා තිබුන බව දැන ගන්න ලැබුනා. උන්වහන්සේලා සතු ඒ දහම් දැනුමට මේ නිවැරදිව පැහැදිලි කරල දුන්න දහම වැරදියට පෙනුනෙ කොහොමද?

**දේශක :** ඒකට හේතුව තමයි,
මේ ධර්මය මේ වෙනකොටත්

පෘතජ්ජනීකරණය වෙලා තිබීම. නමුත් උන්වහන්සේලා දන්නෙ නෑ, මේ වෙනකොට දහම පෘතජ්ජනීකරණය වෙලා කියල. ඒ නිසා පෘතජ්ජනීකරණය වෙච්ච වචන අර්ථයෙන් දරාගෙන කටයුතු කරනවා. ඒ අදහසට පිරිත් නිවන් දකින අර්ථය නිවැරදිව මතු කරල දුන්නට, ඒ අලුතින් පෙන්වා දෙන අර්ථ පිළිගන්න සූදානම් නෑ. මොකද උන්වහන්සේලාත් මේ ධර්මය ඉගෙන ගත්තෙ ත්‍රිපිටකයෙන්ම තමයි. හැබැයි දූන හෝ නොදූන පෘතජ්ජනීකරණය වෙච්ච අර්ථ තමයි ඉගෙන ගත්තෙ. ඒත් පාරමිතා පිරිල නැත්නම්, ඒ කියන්නෙ හේතු වාසනා නැත්නම් නිවැරදි අර්ථ තෝර ගන්න නැණ නුවණක් නැගෙන්නෙ නෑ.

**ශ්‍රාවක :** මොකක්ද ඇත්තටම ඔය පෘතජ්ජනීකරණය වෙලා තියෙනව කියල කියන්නෙ?

**දේශක :** ඒ ගැන හොඳ පැහැදිලි විස්තරයක් <u>මාගන්දි සූත්‍රයේ</u> තියෙනවා. (සංයුක්ත නිකාය - 3 වන කාණ්ඩය - 3 වන පිටුව) ඒ ගැන අපි මීට කලිනුත් සාකච්ඡා කළා. එතනදි බුදු රජාණන් වහන්සේ මාගන්දිය බමුණට පංච කාමයේ ආදීනව විස්තර කර කර ඉන්න ගමන්, අර අපි හැමෝම දන්න,

> ආරෝග්‍යා පරමා ලාභා
> නිබ්බානං පරමං සුඛං
> අට්ඨංගිකෝ ච මග්ගානං
> ඛේමං අමත ගාමිණං

කියන ගාථාව දේශනා කරනවා. නමුත් ඒකෙ තේරුම කියල දෙන්න ඉස්සෙල්ල මාගන්දිය බමුණ කියනවා, මම ඔය ගාථාව දන්නව කියල. එතකොට බුදු රජාණන් වහන්සේ පිළිතුරු දෙනවා, ඔබ දන්න තේරුම් කියන්න කියල. ඒ ගාථාවෙ සඳහන් ආරෝග්‍යය මොකක්ද, නිවන මොකක්ද කියල මාගන්දි බමුණගෙන් අහනවා. එතකොට ඔහු තමන්ගෙ ඇඟපත අතගාල කියනවා, මට දූන් කිසිම ලෙඩක් නෑ, මේක තමයි ආරෝග්‍යය, මේක තමයි නිවන කියල.

**ශ්‍රාවක : ලංකාවෙ ඉන්න වැඩි දෙනෙක් හිතාගෙන ඉන්නෙත්, ඇඟපතේ ලෙඩ නැතුව ඉන්න එක ලොකුම ලාභය කියල දේශනා කළේ බුදු රජාණන් වහන්සේ කියල. හැබැයි ඒක කියල තියෙන්නෙ බුදුන් වහන්සේ නෙවෙයි, මාගන්දිය බමුණා.**

**දේශක :** ඒ නිසා තමයි බුදු රජාණන් වහන්සේ දේශනා කරන්නෙ, ඒ ගාථාව ඒ වෙනකොට පෘතජ්ජනීකරණය වෙලා කියල. ඒ කියන්නෙ ඒ ගාථාව ඒ වෙනකොට දන්නෙ පෘතජ්ජන අර්ථයෙන් විතරයි, ලෞකික අර්ථයෙන් විතරයි. ආර්යයන් දකින තේරුම දන්න අය නෑ කියන එකයි ඒකෙන් කියන්නෙ. ඒ ගාථාවෙ නියම තේරුම දූකගන්න අවශ්‍ය වන ආර්ය ඇස මාගන්දිය බමුණට නෑ කියල බුදු රජාණන් වහන්සේ දේශනා කරනවා.

**ශ්‍රාවක :** මාගන්දිය බමුණට විතරක් නෙවෙයි, ලංකාවෙ ඉන්න අති බහුතරයක් බෞද්ධයන්ටත් ඔය කියන ආර්ය ඇස නැති බව තමයි මට පේන්නෙ. මොකද හැමෝම කියන්නෙ මේ ඇඟේපතේ නිරෝගිකම ගැන කතාවක්මනෙ. ඒකනේ ඔය ලෙඩ හොඳ කරගන්න යන ඉස්පිරිතාලවලත් ඔය ගාථාව ගහල තියෙන්නෙ.

**දේශක :** ඒක තමයි මේ ධර්මය පෘතජ්ජනීකරණය වෙලා කියල කියන්නෙ. ලංකාවෙ වැඩි දෙනෙක් දන්නෙ පෘතජ්ජනීකරණය වෙච්ච වැරදි අර්ථයම තමයි. ඒ නිසාම තමයි වහරක අභයරතනාලංකාර හාමුදුරුවො මේ පෘතජ්ජනීකරණය වෙච්ච දහමේ වැරදි අර්ථ වෙනුවට නිවන් දකින නිවැරදි අර්ථ මතු කරල දුන්නෙ. ඒ උන්වහන්සේට මේ ආර්ය ඇස තිබුන නිසාමයි.

**ශ්‍රාවක :** ආර්ය ඇස කියන්නෙ මොකක්ද කියල පැහැදිලි කිරීමක් කරන්න පුළුවන්ද?

**දේශක :** මේ බුද්ධ සාසනයේ කාලයක් ගතවෙනකොට, නිවන් දකින්න පුළුවන් වෙන නියම දහම් අර්ථ මතු කරන්න පුළුවන් ආර්යන් වහන්සේලා හිඟ වෙනවා. ඒ කාලවලදි වැඩිපුරම අහන්න ලැබෙන්නෙ පෘතජ්ජනීකරණය වෙච්ච අර්ථමයි. මෙතන ආර්ය ඇස කියල කියන්නෙ නුවණ නමැති ඇසට. වෙනත් වචනයකින් කියනව නම් ප්‍රඥාව. ඔබ අහල තියෙනව නේද, මේ ධර්මය ප්‍රඥාවන්තයින්ට පමණයි කියල තියෙන බුද්ධ දේශනාවක් ගැන?

**ශ්‍රාවක :** ඔව්. අනුරුද්ධ සූත්‍රයේ තමයි එහෙම සඳහන් වෙලා තියෙන්නෙ. (අංගුත්තර නිකායේ 5 වන කාණ්ඩයේ 136 පිටුව) මේ ධර්මය ප්‍රඥාවන්තයින්ට මිසක් දුස්ප්‍රාඥයින්ට නෙවෙයි.

**දේශක :** ඉතා දිගු කාලයක් මුළුල්ලේ මේ ධර්මය වැහිල තිබුන නිසා, මේ කාලෙ වැඩිපුරම ඉන්නෙ මේ ආර්ය ඇස හෙවත් ප්‍රඥාව නැති අය. ඒ අය තමයි තමන් ත්‍රිපිටකයෙන් කටපාඩම් කරගත්ත වචනවල අර්ථයට වෙනස් යමක් කියපු සැණින්, ඒ ගැන හොයන්නෙ බලන්නෙ නැතිව කිසිම බයක් නැතිව මේ නිවැරදි දහම් අර්ථ මතු කරන උත්තමයන්ව විවේචනය කරන්න ප්‍රසිද්ධියේම ඉදිරිපත් වෙන්නෙ.

**ශ්‍රාවක :** ඒ අයට ත්‍රිපිටකය පිළිබඳ හොඳ දූනීමක් තිබුනත්, ත්‍රිපිටකය හොඳින් මතක තිබුනත්, කට පාඩමින් කියන්න පුළුවන් වුනත්, ආර්ය ඇස නැත්තෙ ඇයි?

**දේශක :** ඒකට උත්තරයත් මාගන්දි සූත්‍රයේම තියෙනවා. එතනදි මාගන්දිය බමුණා මේ වැරදි අදහසක් දරාගෙන ඉන්නෙ, තමන්ට ආර්ය ඇස නැති නිසා කියල දූනගත්තට පස්සෙ, බුදු රජාණන් වහන්සේගෙන් ඉල්ලීමක් කරනවා, මට හරි අර්ථය කියල දෙන්න කියල.

**ශ්‍රාවක :** බුදු රජාණන් වහන්සේ නමක් කියල දෙනව නම් කාටද ඉතිං තේරුම් ගන්න බැරි?

**දේශක :** ඒක නම් ඇත්ත තමයි. නමුත් ඒ වෙනකොටත් බුදු රජාණන් වහන්සේ මාගන්දිය බමුණට ඒ ගාථාවෙ තේරුම දූනගන්න අවශ්‍ය ධර්ම කරුණු දේශනා කරල තිබුනෙ. නමුත් ඔහු ඒ ගාථාව දන්නව කියල හිතාගෙන හිටපු නිසා, බුදු රජාණන් වහන්සේ දුන්න අදහස දරා ගන්න උත්සාහ කරන්න නැතුව ඇති. ඒ නිසා වෙන්න ඕන, උන්වහන්සේ මාගන්දිය බමුණට කිව්වෙ, ආර්ය ඇස ලබා ගන්න නම් සත්පුරිසයෙක් හොයාගන්න කියල. සත්පුරිසයාගෙන් ධර්මය ඇහුවට පස්සෙ යෝනිසෝමනසිකාරයෙන් සිහි කරල ඔහුට ධම්මානුධම්ම පටිපදාවට එන්න පුළුවන් කියලත් කියල දෙනවා. ඒ විතරක් නෙවෙයි, ඒ ආකාරයට දහම ශ්‍රවණය කරගත්තොත් සියලු දුක්ඛ දෝමනස්සයන්ගෙන් මිදෙන ක්‍රමය තමන්ටම දූනගන්න පුළුවන් බවත් දේශනා කරනවා.

**ශ්‍රාවක :** එහෙනම් කරන්න තියෙන්නෙ, කල්‍යාණ මිත්‍රයෙක් මුණ ගැහිල ශ්‍රී සද්ධර්මය අහගන්න එක විතරයිද? ත්‍රිපිටකය ඇතුළු

වෙනත් වැදගත් ධර්ම ග්‍රන්ථ පරිශීලනය කරල ඔය කියන ආර්ය ඇස ලබාගන්න ක්‍රමයක් ඇත්තෙම නැත්ද?

**දේශක :** එහෙම ක්‍රමයක් ගැන නම් ධර්මයේ සඳහන් වෙන්නෙ නෑ. සෝවාන් අංග හැටියටත් විස්තර කරල තියෙන්නෙ කල්‍යාණ මිත්‍ර සේවනය, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්ම පටිපදාව කියන අංග හතර. යමෙකුට ප්‍රඥාව ලබාගන්න නම්, ආර්ය ඇස ලබා ගන්න නම්, සත්පුරිසයෙක්ගෙන් ශ්‍රී සද්ධර්මය අහගන්නම වෙනවා. බුදු රජාණන් වහන්සේ පෙන්වා දීල තියෙන ඉතා පහසු ක්‍රමයක් තියෙද්දි, නොදන්න ක්‍රමවලට ගිහින් අමාරුවෙ වැටෙන්නෙ මොකටද?

**ශ්‍රාවක :** දැන් ඔය කියන ආර්ය ඇස නැති අය දරාගෙන ඉන්න වචන අර්ථයයි, දහම් අවබෝධය සහිතව ආර්ය ඇස තියෙන අය දරන නිවන් දකින අර්ථයයි අතර තියෙන වෙනස පැහැදිල කරල දෙන්න පුළුවන්ද?

**දේශක :** බොහොම වටිනා ප්‍රශ්නයක් තමයි ඔබ ඇහුවෙ. බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන්න මේ ලෝකයේ සත්‍යය දැක්ක අය, හැකි ඉක්මණින් මේ ලෝකයෙන් මිදෙන්න තමයි කටයුතු කරන්නෙ. ඒ සත්‍යය නොදැක්ක අනෙක් සියළුම දෙනා, පුළුවන් තරම් මේ ලෝකය අල්ල ගන්නම තමයි කටයුතු කරන්නෙ. ඒ නිසා මේ සත්‍යය දැක්කෙ නැති අය නිතරම දරා ගන්නෙ, මේ ලෝකයේ පැවැත්ම හොඳින් කරගෙන යන්න පුළුවන් අර්ථයම තමයි. ඒ වගේම මේ ලෝකෙ තියෙන වචන (නිවන හැර) හැදිල තියෙන්නෙ ලෝක පැවැත්මට අදාළව තියෙන යමක් හඳුන ගන්නමයි. මේ ලෝකයේ සාමාන්‍යයෙන් භාවිතා කරන වචනවලින්, ලෝකයෙන් එතෙර වෙන්න පුළුවන් වෙන අර්ථයක් මතු කරගන්න පුළුවන් වෙන්නෙ, මේ ලෝකයේ සත්‍යය දැකල එයින් මිදෙන්න කටයුතු කරන්න පටන් ගත්ත ආර්ය ශ්‍රාවකයන්ට විතරයි.

**ශ්‍රාවක :** මට හොඳින් වැටහුනා. මේ වචනවල අර්ථ වෙනස් විදිහට දකින්න හේතුව උදාහරණයක් අරගෙන පැහැදිලි කරගත්තොත් තවත් හොඳින් වැටහෙයි කියල හිතෙනවා.

**දේශක :** අර මාගන්දි සූත්‍රයේ තියෙන ආරෝග්‍යා පරමා ලාභා... කියන දහම් පාඨය අනුව සාමාන්‍ය කෙනෙක් දකින වචන අර්ථය මොකක්ද?



**ශ්‍රාවක :** නිරෝගිකම උතුම්ම ලාභයයි, නිවන පරම සැපයයි, ආර්ය අෂ්ඨාංගික මාර්ගය නිවනට යන මාර්ගයයි. එහෙම කියල තමයි මට නම් හිතෙන්නෙ.

**දේශක :** ඔව්, ඔය ආකාරයට සාමාන්‍ය තේරුමක් ගන්න පුළුවන්. නමුත් මාගන්දි සූත්‍රයේ බුදු රජාණන් වහන්සේ පෙන්වා දෙන දහම් කරුණුවලට අනුව, මේ ගාථාවෙ නිවන් දකින්න පුළුවන් ක්‍රමවේදයක් විස්තර වෙනවා. මේ ගැන කලින් අපි කතා කරල තියෙන නිසා ඔබත් මේ ගැන දැන් දන්නවා. සාමාන්‍ය ලෝක සත්ත්වයින් බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන්න මේ සත්‍යය දැකල නැති නිසා මේ ලෝකයේ සැරිසරන්නෙ මොකටද?

**ශ්‍රාවක :** පංච කාම සැප විඳින්න.

**දේශක :** පංච කාමයෙන් ලැබෙන සැප මුළා සැපයක් බව මාගන්දි සූත්‍රයෙන් විස්තර කරන්නෙ කොහොමද?

**ශ්‍රාවක :** ඒක පෙන්වන්න කුෂ්ඨ රෝගියෙක් උදාහරණයකට ගන්නවා. කුෂ්ඨ රෝගයක් තියෙන කෙනෙකුට එතැන ගිනි රස්නය තියෙන උණු අළු පොට්ටනියකින් තැව්වොත් කොහොමද දැනෙන්නෙ කියල උන්වහන්සේ විමසනවා.

**දේශක :** ඒ වගේ රෝගයක් තියෙන කෙනෙකුට ඒක සුවයක් හැටියට තමයි දැනෙන්නෙ. හැබැයි කුෂ්ඨය හොඳ වුනාට පස්සෙත් තැව්වොත් මොකද වෙන්නෙ?

**ශ්‍රාවක :** එතකොට එතන පිච්චෙනවා.

**දේශක :** කුෂ්ඨය තියෙන වෙලාවට තවනකොට පිච්චුනේ නැත්ද?

**ශ්‍රාවක :** එතකොටත් පිච්චෙනව තමයි. නමුත් කුෂ්ඨයෙන් සම විකෘති වෙලා තියෙන නිසා ඒක දැනෙන්නෙ සැපක් විදිහට. එහෙම වෙන්නෙ කුෂ්ඨය නිසා විකෘති වෙච්ච සමට රස්නය දැනීම විපරීත සංඥාවකින් සැපක් විදිහට පරිවර්තනය කරන නිසා.

**දේශක :** ඔය උපමාව අරගෙන බුදු රජාණන් වහන්සේ පෙන්වා දෙනවා, පංච කාමය සැපක් විදිහට දැනුනත් ඒක ඇත්තටම සැපක් නොවන බව. ඉන්ද්‍රියන් පිනවන්න තියෙන ඕනකම නිසා, එහෙම නැත්නම් කාම තණ්හාව නිසා විකෘති කරගෙන තියෙන මනසට පංච ඉන්ද්‍රියන් තුලින් ප්‍රියමනාප රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ අරමුණු වුනාම සැපක් විදිහට දැනෙන්නෙ රෝගී වෙලා තියෙන මනසින් ගන්න විපරීත සංඥාවකින් බව පෙන්වා දෙනවා.

**ශ්‍රාවක :** ඒකෙන් පැහැදිලි වෙනවා, පංච කාමය සැප විදිහට දැනෙන්නෙ තමන් හදාගෙන තියෙන රෝගයක් නිසා හට ගත් විපරීත සංඥාවකින් කියල. මේ රෝගය තියෙන තාක් කල්, පංච කාමය පසුපස හඹාගෙන යන ලෝක සත්ත්වයින්ට පරම සැපත ලබාදෙන නිවන කරා යන්න බැරිව යනවා.

**දේශක :** කාම තණ්හාව නමැති මේ රෝගය ආරෝග්‍ය කර ගත්තොත්, පංච කාමවලින් ලැබෙන මුළා සැපයට රැවටෙන එක නවතිනවා. ඒක තමයි කෙනෙකුට ලබාගන්න පුළුවන් ලොකුම ලාභය. මොකද එතකොට මෙතෙක් කල් ලැබුන මුළා සැපය වෙනුවට නිවන නමැති පරම සැපය ලැබෙනවා. ඒ සඳහා ආර්ය අෂ්ටාංගික මාර්ගය අනුගමනය කළ යුතුයි.

**ශ්‍රාවක :** ඒක තමයි දහම් ඇස තියෙන අය ඔය දහම් පාඨයෙන් දැක්ක අර්ථය. එහෙම දැක්ක අය පංච කාමයන් පසුපස හඹාගෙන යෑම රෝගයක් විදිහට අවබෝධ කරගෙන, ඒ රෝගය සුවපත් කරගන්න පුළුවන් තරම් පංච කාමයෙන් මිදෙන්න කටයුතු කරනවා. ඒක වෙන විදිහකට කියනව නම්, ලෝකය සමග ඇලීමෙන් මිදෙන්න කටයුතු කරනවා. ඇලීම අඩු වෙනකොට ගැටීමත් අඩු වෙනවා. ඇලීමයි ගැටීමයි අඩු කරගන්න අය කොහොමටත් ඉන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයේම තමයි.

**දේශක :** ආර්ය ඇසෙන් බැලුවම පේන විදිහයි, පෘතජ්ජන විදිහට බැලුවම පේන විදිහයි අතර තියෙන වෙනස දැන් පැහැදිලි වෙන්න ඇති.

**ශ්‍රාවක :** එතකොට ඕනෑම කෙනෙකුට, මේ ආර්ය ඇස ලබා ගන්නවට වඩා වැදගත් දෙයක් තියෙන්න විදිහක් නෑනෙ.

**දේශක :** ඔව්, ඒක තමයි. මේ ලෝකයේ ඉන්න සියළුම දෙනා මේ ආර්ය ඇස ලබා ගන්නව නම් තමයි හොඳ. නියමාකාරයෙන් කරුණු හැදෑරීමක් නොකර හදිස්සි වෙලා මේ ආර්ය අර්ථ විවේචනය කරන්න පෙළඹෙන්නෙ නැතිව, සියළු දෙනාටමත් ඉතා ඉක්මනින්ම ආර්ය ඇස පහළ වේවා කියල අපි ප්‍රාර්ථනා කරමු.

**ශ්‍රාවක :** ඒත් ආර්ය ඇස ලබා ගන්න නම් කල්‍යාණ මිත්‍රයෙක්ගෙන් ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන්න අවශ්‍යම වෙන නිසා, දැනටමත් විවේචනය කරන්න හදිස්සි වෙලා ඉන්න අය කල්‍යාණ මිත්‍රයෙක්ගෙන් මේ ධර්මය අහගනියි කියල හිතන්න අමාරුයි නේද?

**දේශක :** ඇයි ඔබ ඒ වගේ අදහසක් ඉදිරිපත් කරන්නෙ?

**ශ්‍රාවක :** විශේෂයෙන්ම ඔය විවේචන කරන ගෞරවනීය ස්වාමීන් වහන්සේලාට දැන් තියෙන සම්මත ධර්මය ගැන මහා දැනුමක් තියෙන නිසා, උන්වහන්සේලා පිරිසිදු සද්ධර්මය ගැන නැවත අහල දැනගන්න පෙළඹෙන එකක් නෑ.

**දේශක :** නමුත් බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා, අරිහත් ඵලය පූර්ණ කරගන්න කල්‍ම සත්පුරිස සංසේවනයයි, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණයයි, මග වඩන්න බොහෝ සේ උපකාරී වෙන බව. ඒ කාරණය දැනගත්ත නම් ඒ ස්වාමීන් වහන්සේලා එහෙම කරන්නෙ නෑ.

**ශ්‍රාවක :** ඉතිං ඒ අයත් සත්පුරිසයෙක් කියල හඳුනගෙන නැති නිසානෙ විවේචනය කරන්නෙ. නමුත් සත්පුරිසයෙක් කියල හඳුන ගත්තොත් විවේචනය කරන එකක් නෑ. සමහරවිට හමු වෙලා ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන්නත් ඉඩ තියෙනවා.

**දේශක :** එහෙම වෙනව නම් ඉතිං කාටත් යහපතක්මයි වෙන්නෙ. නමුත් මම නම් හිතන්නෙ නෑ එහෙම වෙයි කියල. මොකද බුදු රජාණන් වහන්සේ <u>ද්විතීය වස්සකාර සූත්‍රයෙදි</u> ඉතා පැහැදිලිව දේශනා කරල තියෙනවා, සත්පුරිසයන් සහ අසත්පුරිසයන් හඳුනා ගැනීම පිළිබඳව. (අංගුත්තර නිකාය - 2 - 347 පිටුව)

**අසත්පුරිසයෙකුට අසත්පුරිසයෙකු හඳුනාගත නොහැක. මෙය සිදු වන්නටද අවකාශ නැත.**

**අසත්පුරිසයෙකුට සත්පුරිසයෙකු හඳුනාගත නොහැක. මෙය සිදු වන්නටද අවකාශ නැත.**

**සත්පුරිසයෙකුට අසත්පුරිසයෙකු හඳුනාගත හැක. මෙය සිදු වන්නට අවකාශ ඇත.**

**සත්පුරිසයෙකුට සත්පුරිසයෙකු හඳුනාගත හැක. මෙය සිදු වන්නට අවකාශ ඇත.**

**ශ්‍රාවක :** අසත්පුරිසයෙකුට තවත් අසත්පුරිසයෙක් හඳුන ගන්න බෑ කියල කියන්නෙ කොහොමද? ඔය ඕන තරම් අසත්පුරිසයො එකතු වෙලා අපරාධ කරන්නෙ.

**දේශක :** ඔබ කතා කරන්නෙ ලෝක සම්මතයේ ඉන්න අසත්පුරිසයො ගැන. මේ දේශනාව තියෙන්නෙ, ශ්‍රී සද්ධර්මය අහල දැන ගන්න පුළුවන්, ධර්මය අවබෝධ කරගෙන ඉන්න සත්පුරිසයෙක් සහ දහම අවබෝධ කරගෙන නැති අසත්පුරිසයෙක් ගැන.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ කල්‍යාණ මිත්‍රය ගැනයි මේ කියල තියෙන්නෙ. එතකොට අසත්පුරිසයෙකුට, ඒ කියන්නෙ දහම දන්නෙ නැති කෙනෙකුට සත්පුරිසයෙක් හඳුන ගන්න බෑ කියලත් කියනවනෙ. එතකොට අපි කොහොමද මේ නිවැරදි ධර්මය හොයා ගන්නෙ?

**දේශක :** එහෙම ප්‍රශ්නයක් ඇතිවෙනව තමයි. මේක බොහොම සරල කාරණයක්. ඔබ දන්නවනෙ රසායන විද්‍යාව කියල විෂයක් තියෙන බව. හිතන්න ඔබ රසායන විද්‍යාව ගැන කිසිම දෙයක් දන්නෙ නෑ කියල. එතකොට ඕනෑම ගුරුවරයෙකුට ඔබට රසායන විද්‍යාව කියල ඕනෑම දෙයක් උගන්වන්න බැරිද?

**ශ්‍රාවක :** ඇත්ත නේන්නම්. මම රසායන විද්‍යාව ගැන අකුරක්වත් දන්නෙ නැත්නම්, රසායන විද්‍යාව කියල මට මොනව ඉගැන්නුවත් හොයා ගන්න ක්‍රමයක් ඇත්තෙම නෑනෙ. ඒ මම මුකුත්ම දන්නෙ නැති නිසා තමයි.

**දේශක :** ඒ ආකාරයට තමයි ලංකාවෙ අති බහුතරයක් දෙනා ශ්‍රී සද්ධර්මය දන්නෙ නැති නිසා, ඕනෑම කෙනෙකුට ඕනෑම දෙයක් ශ්‍රී සද්ධර්මය කියල දෙන්න පුළුවන්. අහන අයට දැනගන්න ක්‍රමයක් නෑ, ඒක නිවැරදි ධර්මයද නැත්ද කියල. මොකද ඒ අය ඒක විමර්ශනශීලීව අහන්නෙ නැති නිසා. සමහරු යමක් දේශනා කරනකොට ප්‍රශ්න අහන්න දෙන්නෙත් නෑ, හේතුඵල පැහැදිලි කරන්නෙත් නෑ. එතකොට අහගෙන ඉන්න අයත් ඒකම හරියි කියල හිතාගෙන ඉන්නවා.

**ශ්‍රාවක :** දැනුයි මට තේරුනේ. මමත් මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙන්න ඉස්සෙල්ල ශ්‍රී සද්ධර්මය කියල හිතාගෙන හිටියෙ වෙන එකක්නෙ. ඒ කාලෙ මට ඒකෙ කිසිම වැරැද්දක් පෙනුනෙ නෑ. මම හිතුවෙ මේ නියම බුද්ධ ධර්මය කියලම තමයි. ඒ නිසා තමයි ඒ කාලෙ මම, හරි දහම හඳුනගන්න බැරිව එක ☞

එක්කෙනා කියන කියන දේවල් බුදු දහම කියල හිතාගෙන කර කර හිටියෙ.

**දේශක :** හැබැයි ඔබට දැන් වැටහෙනව නේද, නිවන් දකින්න නම් කරන්න ඕන මොනවද කියල?

**ශ්‍රාවක :** ඔව් මම දැන් දන්නවා. මම දැන් එහෙම දැනගන්නත්, ඉස්සර එහෙම නොදැන ගන්නත් හේතුව මොකක්ද?

**දේශක :** ඒකට හේතුව තමයි, ඔබට දැන් නියම ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන්න ලැබීම. ඒ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන අතරතුරේදි ඔබේ ප්‍රඥාව වැඩුනා. ඒ අවස්ථාවෙදි වැඩුනු ප්‍රඥාවට බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන් ලෝක සත්‍යය වැටහුනා. එතකොට ඔබත් දැන් සත්පුරිසයෙක්. ඒ කියන්නෙ දහම දන්න කෙනෙක්. ඒ නිසා දැන් ඔබට සත්පුරිසයා හඳුන ගන්න පුළුවන්.

**ශ්‍රාවක :** මේක නම් හරිම පුදුමයි. මේ දහම කාටහරි අවබෝධ වෙන ක්‍රමවේදය මට දැන් තමයි හොඳින්ම වැටහුනේ. අපි බොහෝ පිරිසක් මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ කර ගත්තත්, ඒ අතරින් ධර්මය වැටහුන අයට විතරයි සත්පුරිස සංසේවනය හරි විදිහට ලැබිල තියෙන්නෙ. එතකොට ධර්මය වැටහුනේ නැති අනික් පිරිසට මොකද වෙන්නෙ?

**දේශක :** ඒ අය තමන්ට ධර්මය වැටහෙනකල්ම සත්පුරිස සංසේවනය ලබාගන්න ඕන. මේ ධර්ම සාකච්ඡාවලට යළි යළිත් සම්බන්ධ වෙලා මේ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන්නම ඕන. යම් අවස්ථාවක ඒ අයටත් ධර්මය වැටහෙයි. එතකොට තමයි ඒ අයටත් සත්පුරිසයා හඳුනගන්න පුළුවන් වෙන්නෙ. ඒත් හේතු වාසනා නැත්නම් මේ අත්බවයේ අවබෝධ වෙන්නෙත් නෑ. නමුත් සත්පුරිස සංසේවනය තුලින් ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කිරීම පාඩුවක් වෙන්නෙ නෑ. ඊළඟ අත්බවයෙදි හෝ ත්‍රිහේතුකව උප්පත්තියක් ලබල ධර්මාවබෝධයක් ලබන්න ඒක උපනිශ්‍රය වෙනවා.

**ශ්‍රාවක :** එහෙම නම් මේ ශ්‍රී සද්ධර්මය අවබෝධ කරගෙන නැති, නමුත් මේ ධර්මය පොතපතින් හොඳින් ඉගෙන ගෙන ඇති අය දිගින් දිගටම ධර්මය විකෘති කරනවා කියල විවේචනය කර කර ඉඳියි. ඒ නිසාම තමයි මේ විවේචනය කරන අය ගැන දයානුකම්පාවෙන් කටයුතු කරන්න කියල වහරක හාමුදුරුවොත් නිතරම කිව්වෙ. මේ සත්‍යය උන්වහන්සේ දැකල තිබ්ච්ච නිසා.

**දේශක :** "මට පහර දුන්නත්, බැණ වැදුනත්, නින්දා අපහාස කළත්, මගේ අගුණ කීවත්, මම ඒ අයට හිත රිදෙන දෙයක් නොකියමි, නොකරමි. අනුකම්පාවෙන් ඒ හැම දෙනාගේම යහපත පතා කටයුතු කරමි කියන මේ උතුම් අදහස ආර්ය උතුමන්ගේ චිත්ත ස්වභාවයයි. ආර්ය උතුමන් වීමට සියල්ලෝම උත්සාහ කරත්වා."

උන්වහන්සේව මොන විදිහට විවේචනය කළත්, සමහර විට ශාරීරික වශයෙන් වද හිංසාවට පත් කළත්, හැම තිස්සෙම දුරුවෙ ඔය අදහසම තමයි. මේ ශ්‍රී සද්ධර්මය හේතු සහිතව ත්‍රිපිටක සාක්ෂි සහිතව සරලව පැහැදිලි කරල දෙනව ඇරෙන්න වෙනත් කිසිවක් උන්වහන්සේ කළේ නෑ.



**ශ්‍රාවක :** මේ සත්‍ය ධර්මය වටහ ගන්නෙ නැතිව ධර්මය කටපාඩම් කරගෙන, තමන් කටපාඩම් කරගත් අර්ථයට වඩා වෙනත් අර්ථයක් අහන්න ලැබුන ගමන් විවේචනය කරන්න බලාගෙන ඉන්න අය ගැන දයානුකම්පාවෙන්, මේ බව සනාථ කරන්න පුළුවන් ත්‍රිපිටක සාක්ෂියක් ඉදිරිපත් කළොත් හොඳයි නේද?

**දේශක :** ඔව්. ඒකට හොඳ සාක්ෂියක් තියෙනවා. ද්විතීය වස්සකාර සූත්‍රයත් එක සාක්ෂියක් තමයි. තවත් සාක්ෂියක් පෙන්වන්න පුළුවන් ආලෝක සූත්‍රයෙන්. (සං.නි.1, 381 පිටුව) එතනදී දමනය වුන ආලවක යක්ෂයා අහනවා, ප්‍රඥාව ලබාගන්නෙ කොහොමද කියල. ඒකට බුදු රජාණන් වහන්සේ පිළිතුරු දෙනවා, "සුස්සූසා ලබතේ ප්‍රඥා" කියල. ඒ දේශනාවෙ තේරුම, මේ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන්න කියන එක.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ ධර්මය ශ්‍රවණය කරනකොට තමයි ප්‍රඥාව ලැබෙන්නෙ.

**දේශක :** තවත් සූත්‍රයක් තියෙනවා සුස්සූසති කියල. (අං.නි.4, 247 පිටුව) ප්‍රඥාව ලබාගන්න ධර්මය ශ්‍රවණය කළ යුතු ආකාරය ඒ සූත්‍රයේ විස්තර කරල තියෙනවා.

**ශ්‍රාවක :** මොකක්ද ඒ ක්‍රමවේදය? ඒක හරිම වැදගත් දෙයක්. අපි හැමෝම මේ ධර්මය අහන නිවැරදි ක්‍රමය දැනගන්න ඕනමයි.

**දේශක :** ඒකෙ කාරණා 4 ක් විස්තර කරනවා.

1. අහන්න කැමති විය යුතුයි.
2. ඇසීමට කන් යොමු කළ යුතුයි.
3. අහන කාරණා දැන ගැනීමට සිත එළවිය යුතුයි.
4. අර්ථවත් දේ අරගෙන අනර්ථවත් දේ අත්හළ යුතුයි.

ඒ ක්‍රමයට ධර්මය අහන අයට තමයි ඔය කියන ප්‍රඥාව හෙවත් ආර්ය ඇස ලබාගන්න පුළුවන් වෙන්නෙ.

**ශ්‍රාවක :** ඕනෑම දෙයක් නිවැරදිව තේරුම් ගන්න පුළුවන් හොඳ ක්‍රමවේදයක් තමයි උන්වහන්සේ දේශනා කරල තියෙන්නෙ.

**දේශක :** මේ ආකාරයට හැම තිස්සෙම නිවැරදිව ත්‍රිපිටක සාක්ෂි සහිතව ශ්‍රී සද්ධර්මය අපට සරලව පහදල දුන්න, අපේ කාලයේ මහා ශ්‍රමණයන් වහන්සේ නමක් තමයි වහරක අභයරතනාලංකාර හාමුදුරුවො.

**ශ්‍රාවක :** ආර්ය ඇස නැතිව පෘතජ්ජනීකරණය වෙලා තිබ්බ්ච බුදු දහම නැවත මතු කරල, බොහෝ පිරිසකට ආර්ය ඇස ලබා දුන්න ඒ උත්තමයාණන් වහන්සේට කොහොම ගරු කරන්නද කියල හිතාගන්නවත් බෑ. උන්වහන්සේ දයානුකම්පාවෙන් මේ ආර්ය ඇස ලබාගන්න පුළුවන් වෙන ආකාරයට ධර්මය පැහැදිලිව දේශනා කළත්, අති බහුතරයක් බෞද්ධයන් අතරට ඒක තවමත් ලැබිල නැත්තෙ ඇයි?

**දේශක :** කොහොමටත් මේ ශ්‍රී සද්ධර්මය පරම දුර්ලභයිනෙ. ඒ නිසා පැය 24 පුරාම ශ්‍රී සද්ධර්මය අහන්න පුළුවන් ක්‍රමයක් ඇති වෙන්නෙ නෑ. අනික් එක තමයි, මේ ශ්‍රී සද්ධර්මය ලංකාවෙ බෞද්ධ ජනතාවට ලබා දෙන්න හදන පිරිසට වඩා, ඒක බෞද්ධයන්ට ලැබෙන එක වළක්වන්න කටයුතු කරන පිරිස හරිම බලවත්. ඒ නිසාම, උන්වහන්සේ වසර 12 ක් තිස්සේ මේ දහම දේශනා කළත්, තවමත් ලංකාවේ අති බහුතරයක් බෞද්ධයන්ට මේ ධර්මය ශ්‍රවණය කරන්න අවස්ථාව ලැබිල නෑ.

**ශ්‍රාවක :** එහෙනම් අපිට උන්වහන්සේට කරන්න පුළුවන් ලොකුම පූජෝපහාරය වෙන්නෙ, මේ ධර්මය වඩා වැඩි පිරිසකට ශ්‍රවණය කරන්න අවස්ථාව සලසල දෙන එක තමයි.

**දේශක :** ඔව්. උන්වහන්සේගෙ එකම අරමුණ වුනෙත් ඒකම තමයි. මම පෞද්ගලිකවම දන්නවා, උන්වහන්සේ ඉතා දැඩි විදිහට රෝගාතුරව හිටපු අවස්ථාවලදි පවා, සමහරවිට කතා කරන්නත් අමාරු තත්ත්වයක ඉඳෙද්දිත්, උන්වහන්සේට සත්කාර / ප්‍රතිකාර කරපු අයගෙ බලවත් විරෝධය මැද පවා උන්වහන්සේ දහම කියල දෙන්න තමයි හැමවිටම වෙහෙස මහන්සි වුනේ. අපේ ජීවිත කාලය පුරාවටම ඇහුවත්, අහල ඉවර කරන්න බැරි තරම් ධර්ම දේශනා රාශියක් පටිගත කරලත් තියෙනවා. පටිගත කරගන්න බැරිවෙච්ච ඒවත් ඒ තරමටම ඇති.

**ශ්‍රාවක :** උන්වහන්සේගෙ දේශනා ඒ ආකාරයටම ආරක්ෂා වෙලා තියෙන එක නම්, මේ නිවැරදි දහම හොයාගෙන සතර අපායෙන් මිදෙන්න උත්සාහ කරන කාටත් සතුටුදායක ආරංචියක් වේවි.

**දේශක :** ඔව්. අපි දැන් කළ යුත්තේ මේ ආකාරයට ත්‍රිපිටකයේ සඳහන් වෙන සූත්‍ර අනුසාරයෙන්, ඉතා සරලව ධර්මය විග්‍රහ කරන ධර්ම සාකච්ඡා තම තමන්ගෙ ගම් ප්‍රදේශවල සංවිධානය කිරීම. ඒ සඳහා තමන්ගෙ ගමේ විහාරස්ථානයේ ගෞරවනීය නායක ස්වාමීන් වහන්සේගෙ අනුග්‍රහය ලබා ගන්න කටයුතු කළ යුතුයි. ත්‍රිපිටකය අනුසාරයෙන් නිවැරදිව දහම් කරුණු සාකච්ඡාවට ලක් කරන වැඩසටහන් සංවිධානය කරන්න උන්වහන්සේලාගේ ආශිර්වාදය ලැබෙන බව මට විශ්වාසයි. දැනටමත් ඒ වගේ ධර්ම සාකච්ඡා රාශියකට සම්බන්ධ වෙලා තියෙන නිසා ඒ බව මම අත්දැකීමෙන්ම දන්නවා.

**ශ්‍රාවක :** මේ ත්‍රිපිටකයේ තියෙන දහම් කරුණු නවීන තාක්‍ෂණය භාවිතා කරල, ඒ ඒ අවස්ථාවලදිම අදාළ සූත්‍රවල සඳහන් වෙන කරුණු කාරණා පෙන්නුම් කරල දීල පවත්වපු ඒ ධර්ම සාකච්ඡාවට අපේ ගමේ පන්සලේ නායක හාමුදුරුවොත් ආශිර්වාද කළා. ඒ විතරක් නෙවෙයි, උන්වහන්සේ නැවත වාරයක් වැඩි පිරිසක් දැනුවත් කරල, ආයෙත් ඒ වගේම සාකච්ඡාවක් සංවිධානය කරන්න කියල ආරාධනාවකුත් කළා.

**දේශක :** එහෙම තමයි කටයුතු කරන්න අවශ්‍ය වෙන්නෙ. අපි බෞද්ධයන් හැටියට කරන සියළුම ආගමික කටයුතුවලදි ගමේ විහාරස්ථානය මූලික කරගෙන කළ යුතුයි. ගමේ පන්සලේ ගරුතර ස්වාමීන් වහන්සේලාගේ ආශිර්වාදය අපිට මේ ගමන යන්න අත්‍යවශ්‍ය වෙනවා.

සටහන

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**

# අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ බේත් හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ.

වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න. (ගමන් මාර්ගය 32 පිටුවේ දක්වා ඇත.)
0777-193907 / 071-8585621 / 078-4891332 / 077-1620072

# කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දිවයිනේ දැනට ලබාගත නොහැකි මාතලේ, දිගාමඬුල්ල, ත්‍රිකුණාමලය සහ වව්නියාව යන දිස්ත්‍රික්කවල පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි ඉහත කී දිස්ත්‍රික්කවල ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ.

විමසීම්: 071-3046895

# සමාධිමය අත් බෙහෙත්



පනම් පෙති



අසමෝදගම් ඇට



චීන ගස්



පත්පාඩගම්

චරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී රෝගීන්ට ලබා දුන් තවත් ප්‍රත්‍යක්ෂ සමාධිමය අත් බෙහෙත් කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ. කිසිදු අතුරු ආබාධයක් නැතිව, වැඩි වියදමක් නැතිව හදාගන්න පුළුවන් මේ බේත් හැම දෙනාටම පාවිච්චි කරන්න පුළුවන්. නමුත් මීට පෙරත් සඳහන් කළා වගේ ඒ ඒ අයගේ කර්ම ශක්තීන්ට යටත්ව මේ සියලු බේත් ප්‍රත්‍ය වන බව සළකන්න.

## මොළයේ සියුම් නහරවල බැඳුනු සෙම විරේකය සඳහා

මොළයේ පිහිටි සියුම් නහරවල සෙම ආදී අපද්‍රව්‍ය බැඳීම නිසා නිදිමත ගතිය, ශරීර අප්‍රාණික ගතිය, කාන්සිය, කම්මැලිකම... ආදී විවිධ අපහසුතාවයන් එන්න පුළුවන්. ඒ වගේ අවස්ථාවකදි හිස ගැල්වීම සඳහා යොදාගන්න පුළුවන් තෙලක් තමයි මේ.

මේ සඳහා ඉඟිනි ඇට, රත් හඳුන්, අමු ඉඟුරු, නා දළු, පනම් පෙති (කාසි පෙති), තිප්පිලි කියන මේ අමුද්‍රව්‍යවලින් කලං 4 බැගින් අවශ්‍යයි. (පනම් පෙති කියන්නෙ පැරණි තාප්ප, බිත්ති, පොල් ගස්, පුවක් ගස්... ආදී තැන්වල මතුපිට හැදෙන තරමක් ඝනකම ඕවලාකාර පොඩි පෙති වගේ අපිශාකයක් හෙවත් පරපෝෂිත ශාකයක්.)

ඊට අමතරව සහිඳ ලුණු කලං 1/2 ක් සහ පිරිසිදු තල තෙල් නැලි 4 ක් අවශ්‍යයි (නැලි 1 ක් = හුණ්ඩු 4 යි.) මේ අමුද්‍රව්‍ය සියල්ලම කොටාගෙන හෝ අඹරගෙන තල තෙල් සමග මඳ ගින්නේ පැය 8 ක් සමපාකයට හිඳ ගැනීමෙන් අවශ්‍ය තෙල හදාගන්න පුළුවන්.

## බඩේ බැඳුනු සෙම් අමාරු සඳහා

ආහාර මාර්ග පද්ධතියේ බැඳුනු සෙම නිසා ශරීරයේ තවත් විවිධාකාර අමාරුකම් එන්න පුළුවන්. ඒ වගේ අවස්ථාවල පාවිච්චි කරන්න පුළුවන් සරල බේතක් තමයි මේ.

මේ සඳහා අමුද්‍රව්‍ය විදිහට අවශ්‍ය වෙන්නෙ පෙති පුවක් ග්‍රෑම් 25 යි, පිරිසිදු කපු රෙදි කැබැල්ලයි, මී පැණි බෝතල් 1/8 යි (පෙති පුවක් කියන්නෙ සාමාන්‍යයෙන් හුඟක් මෝරපු නැති පුවක්. ඒ වගේ පුවක්, ලෙලි ගහල පෙති කපාගෙන අව්වෙ වේළගත්තම තවත් පහසුයි. මොකද එතකොට පහසුවෙන් කුඩු කරගන්න පුළුවන්.)

කපු රෙදි කැබැල්ලක් ගන්නකොට, සාමාන්‍යයෙන් පිච්චුවම අළු ටිකක් හදාගන්න පුළුවන් ප්‍රමාණයේ රෙදි කැබැල්ලක් ප්‍රමාණවත්. පළමුව කපු රෙදි කැබැල්ල සෝදා පිරිසිදු කරගත යුතුයි. ඉන්පසු ඒ රෙදි කැබැල්ල පුච්චගෙන එන අළු සමග පෙති පුවක් මිශ්‍ර කරගෙන මී පැණියෙන් අඹර ගෙන කෝපි ගෙඩි තරමට ගුලි කරගත යුතුයි. ඒවා උදේ හවස 1 බැගින් පාවිච්චි කිරීමෙන් බඩේ බැඳුනු සෙම් දෝස ඉවත් වෙන්න හේතු වෙනවා.

## පපුවේ වියළි සෙම ගැලවීම සඳහා

මේ සඳහා ගස්ලබු මුල්, පෙරුම්කායම්, කුප්පමේනිය දළු, අරළු කියන අමුද්‍රව්‍ය අවශ්‍ය වෙනවා. විශේෂයෙන් පෙරුම්කායම් ගන්නකොට, විස මරපු පෙරුම්කායම් කුඩු ගන්නව නම් වඩා හොඳයි. මොකද පෙරුම්කායම් ටිකක් සැර නිසා. නැත්නම් කුට්ටි පිටින් තියෙන පෙරුම්කායම් නම් රත් කරල විස මරල ගන්න ඕන. දැන් මේ අමුද්‍රව්‍ය සම සමව අරගෙන පිරිසිදු තල තෙලින් අඹරගෙන තිබ්බටු ගෙඩි තරමට ගුලි කරගෙන ආහාරයෙන් පසු 1 බැගින් ගන්න.

## පැරණි අජීර්ණ පුච්චා හැරීම සඳහා

ආහාරපාන සමග විවිධ වස විස කැවීම් නිසා ආහාර මාර්ග පද්ධතියේ ඇති වූ කල්ගත වූ අජීර්ණ සඳහා ප්‍රත්‍ය වන ඖෂධයක් තමයි මේ. තිප්පිලි, අසමෝදගම් ඇට, වියළි ඉඟුරු, කරාබු නැටි, චීන මුල්(ගැටිති සහිත උස ගස් වර්ගයක්), සුදු හඳුන්, පත්පාඩගම්, අරළු, නීරමුල්ලි කියන අමුද්‍රව්‍ය මේ සඳහා අවශ්‍ය වෙනවා. මේ අමුද්‍රව්‍ය සම සමව අරගෙන වේළල කුඩු කරගෙන කෝපි වගේ උණු වතුරෙන් වත් කරල තැම්බුනාට පසු රාත්‍රී ආහාරයට පැය භාගයකට පෙර බොන්න ගන්න. ඒ විදිහට දින 15 ක් ගත්තම ප්‍රමාණවත්.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 66 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

### ශ්‍රම දායකත්වය

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ ගයාන් ගුණරත්න මහතා - ගොතටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ ඩබ්. ඒ. තිළිණවතී මහත්මිය - කඩවත ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ■ රත්න පෙරේරා මහතා - කැස්බෑව ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

### මූල්‍යමය දායකත්වය

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 6,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - රු. 5,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ ගයාෂාන් පෙරේරා මහතා - බොරලැස්ගමුව - රු. 3,000/- ■ එස්. එච්. විතාරණ මහතා - පල්ලිකුඩාව, තංගල්ල - රු. 3,000/- ■ 2017.02.26 මාස පෝය දින වහරක දානයට දායක වූ මොරකැලේ එමින්ද ගුණරත්න මහතා ඇතුළු පිරිස - රු. 3,000/- ■ සකුන්තලා ඒකනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 3,000/- ■ ඩිලානි ඩයස් මහත්මිය ඇතුළු පවුලේ සැම - නාවින්න රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ සුජීවනී ජයවර්ධන මෙනෙවිය - පාදුක්ක - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ සංජය රණවීර මහතා - මහරගම - රු. 2,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 2,000/- ■ කාන්ති වික්‍රමසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - දෙනගම, හක්මන - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2,000/- ■ එස්. ඩී. සමීර සුමිත් කුමාර මහතා සහ කේ. ඒ. දිලිනා සඳරුවනි මහත්මිය - කඹුරුපිටිය - රු. 2,000/- ■ ඩබ්. එම්. විජේසූරිය මහතා සහ දිලානි මහත්මිය ඇතුළු පවුලේ සැම - හසලක - රු. 1,650/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 1,550/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය - රු. 1,500/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ උදයන්ති කුමාරි බණ්ඩාරනායක මහත්මිය - කුරුණෑගල - රු. 1,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු. 1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - පන්නිපිටිය - රු. 1,000/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නලින්ද ප්‍රේමරත්න මහතා - මහරගම - රු. 1,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු. 1,000/- ■ සුනිමල් ආර්. කුමාරතුංග මහතා - අවිස්සාවේල්ල - රු. 1,000/- ■ රමණී ප්‍රනාන්දු මහත්මිය - ගල්කිස්ස - රු. 1,000/- ■ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ පද්ම බන්දු පීරිස් මහතා - පානදුර - රු. 1,000/- ■ අමා සෙනරත් මෙනවිය - අල්ගම - රු. 1,000/- ■ ඒ. ඒ. වින්ද්‍යා නිර්මාණී දුව - රදාවාන - රු. 1,000/- ■ ජී. ඩබ්. සෝමදාස මහතා - කළුතර - රු. 1,000/- ■ රමණී වීරසිංහ මහත්මිය සහ චුලාරා ෆොන්සේකා මහත්මිය - රත්මලාන, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, රසික තුශාන්ත මහතා - හෝමාගම, වෛද්‍ය එච්. පී. වික්‍රමසූරිය මහත්මිය - රාගම, ශාමෙන් රවිඳු පුතා - අතුරුගිරිය, සෙනෙහෙලතා ජයවික්‍රමහ මහත්මිය - ගම්පහ, එම්. ඩබ්. එරන්දිකා ශ්‍රිවන්ති මහත්මිය සහ චිත්‍රා නානායක්කාර මහත්මිය - මහරගම, සෝමරිය මහතා - කොටියාකුඹුර - එකතුව - රු. 7,800/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 171,000/- ■ පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම රු. 263,000/- ■ අනෙකුත් වියදම් - 17,000/- ■ සම්පූර්ණ වියදම - රු. 280,000/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විඹිදී පැතිර පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.ඇ.- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. - 0112655800 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රූස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) තලංගල්ල විවේක සේනාසනය - 0716272455 (25) ඩබ්. කේ. නලිනසේකර මහතා - මගුළුමස්විල, වලල්ලාවිට - 0342284428 (26) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (27) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (28) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (29) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය - 0772717514 (30) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 0714492649 (31) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 0772292677 (32) රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 (33) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 (34) සෙල්මින් ලේබල් (පුද්.) සමාගම - අංක 313/29 බී, ගෝනමඩිත්ත පාර, පිළියන්දල - 077 3018686 / 011 2616349 (35) සෙනරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 (36) සසුන සෙනසුන බ්‍රහ්ම විහාරය, බණගේතැන්න, මතුරට, වලපනේ - 077-7770582 (37) Mr. Coffee, කෙලින් වීදිය, දේවාලෙගම (පොල්ගහවෙල පාර) - 071 - 4569500 / 035 - 3222220 (38) අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075-7246797 (39) අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071-2404242, 072-2404242

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

**ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.**



# රතනාලංකාර වහරක
# සමිඳු ගරු...

විහිදු දස දෙස පතළ කිතු ගොස අමා සදහම් බෙරය වැයුවෝ
පසිඳු විය සිරි ලකෙහි අපෙ හිමි දහස් ගණනිනි සුවය ලදුවෝ
අවිදු ගණඳුර නසා මෙ සසර සදා සුව සෙත සහන සැදුවෝ
සමිඳු වහරක සසර බැමි සිඳ පරම සුන්දර නිවන දුටුවෝ

අමිල නිකැලැල් මහඟු රත්නය අලංකාරයි නමට සරි වෙයි
නිමල බුදු බණ දෙසුව අපෙ හිමි සඳුගෙ මෙසසර ගමන නිම වෙයි
පතළ කිතු ගොස පුරා දෙරණත සදා හැම හදවතක මුසු වෙයි
සකල සිරි ලක සුවඳවත් කළ සොඳුරු පරසතු කුසුම පර වෙයි

රැඳුන සොම් ගුණ පතළ සම මෙත පියෙකු ලෙස සදහම් ඔවා දී
හැඳුන අය ලෙස ගුණ දහම් පිරි කරනු වස් ඔවදන් ලබා දී
බැඳුන සසරට සකල බැමි සිඳ අමා නිවනට මං කියා දී
මුදුන වෙත දම් හිණි මගෙහි අප ගෙන ගියෝ නුවණින් සමාධී

හිතැති දහමට කුඩා කල සිට බුදු මගට සිත යෙදුව නිති යෙන
පිනැති සිල් පිරි තෙදැති යතිවර නමකි අපෙ පෙර පිනට හමු වුන
නියති ගැලවෙම් ලැබුව මෙම අත් භවයෙදිම ගොර රුදුරු සස රින
පැවති අදිටන එබඳු විය අපෙ සමිඳු එපරිදි නිවුනි නිව නින



පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# බුදු විවරණ ලබා මතු කර දහම් නියා
# සැඟවුනු දම් දෙසා හිමි පිරිනිවන් ගියා

නොම සඟවා තමන් දත් තතු දහම ගැන
හැම විට නිවන මුල් කරගෙන දෙසුවෙ බණ
එම හඬ මුවින් පිටවන විට නැගෙන ගුණ
"මම" යන දිටුව පහවෙයි සව්වනට එන

නැත වේලා අවේලා බණ දහම කට
සත වෙත පතළ කරුණාවයි අහන විට
නිතරම දෙසුවෙ නිවනයි බුදු දහම වට
සිත පිරිසිදුව එයි ඇහුවත් හදෙහි තුට

ලැබුන ලාබ කිත් පැසසුම් ඉවත හෙළා
තැබුව මාර බිලි ලෙස බුදු දෙසුම බලා
ගැඹුරු දහම් කරුණුද ඒ සමග නෙළා
තිබුන මාර බැම් බිඳ ලොව එකළු කළා

කුල මල ජාති ආගම් නෙක උස් මිටි කම්
නිල බලවලට යට වුනෙ නැත දෙන විට දම්
කල ලද විටදි භව ගමනය කරනට නිම්
පළ විය හිමි මුවින් සිරි සදහම මන රම්

භව පටිලාභ පමණයි තම හට ඇත්තේ
නව උපතකට යළි කිසි හේතුද නැත්තේ
දවසක මෙ කය බිඳිලා යන විට මත්තේ
පැවසිය පිරි නිවන බව එයමය සත්තේ

මාර වෙස් වලාගෙන ආ නෙක බාධා
බාර ගන්ට සිදු විය නුවණැස පාදා
සාර නැති ලොවක නිවනට සිත සාදා
ඝෝර තුන් ලොවින් ජය ගති නැත වාදා

පෙරපර හැඳින ගෙන කම් එල ලැබෙන නියා
දුර දිග බලා තම කය ගැන තතුද සොයා
කර ගෙන ඒ කය උපමා ලෙස දහම කියා
ජර මර තිලොව හැර හිමි පිරිනිවනෙ ගියා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



1066 Rs.25.00

Hela Bodhu Piyuma 66

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී